සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2556ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2013 ජනවාරි)

15 වෙනි කලාපය

## වෛද්‍ය විද්‍යාවට හසු නොවූ ලෙඩ රෝගයන්ගේ මූලය දහම් ඇසින්...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-

# කලි යුගයෙන්... ඛෂත යුගයට

එන බව ලෝක වැනසුම ගැන නොයෙක කතා
දැන ගෙන දෙව් මිනිස් බඹ මේ සියලු සතා
පැන ගෙන යන්න හැදුවත් ජීවිතය පතා
බණ දම් අනුව රැක දුනි තුන් සරණේ සෙතා

කලබල කළේ සත ලෝ වැනසුමක් ගැන
නොලබා යථා දම් අවබෝධයක් දෙන
මිල කළ නොහැකි වටිනා දම් මගක් එන
කලකට නොවේ වැනසුම යහපතක් වෙන

ඉර හඳ මෙතෙක් ආ මග වෙනසකට පුරා
කර විය නියම මග ආ විස කිරණ ඉරා
පෙර කළ මහා බුදු අදිටන් බලය දරා
හැර විය යළිත් ලොව ගුණ දෙන යුගය කරා

යුධ බිය මර බියද නෙක තැති ගැනුම් විඳ
තද විය සියලු සත පීඩාවලින් බැඳ
වධ දෙන රෝ දුකින් මුදවන දහම් කඳ
නද ගෙන වඩින තෙක් ඇත සත බලන් හිඳ

රහතුන් වැඩිය මග යළි ලෝකෙට එනවා
අහ ගන් එමග හෙළි කෙරෙමින් පවතිනවා
වහ ගන් පාප කම් සුහ එල ගෙන දෙනවා
මහතුන් පිරි ලොවක් ළඟ ළඟ මතු වෙනවා

රැව් පිළි රැව් දිදී මුනි බණ නැග ඒවා
පව් නැති සිත් සතන් හැම සතටම වේවා
අවුරුදු නැකත හැමතින් ජය ගෙන දේවා
සව් සත වෙතට දහමේ ගුණ පිහිටාවා



පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# බුදුන් වහන්සේ පෙන්වා දුන් කවීත්වය සහ
# අපේ පැරණි කවිවලින් මතුවන සැඟවුණු දහම් අරුත්

කවිය කියන එක අපට අමුතු දෙයක් නෙවෙයි. ශත වර්ෂ ගණනාවක පටන් විවිධාකාර ශෛලියන්ගෙන් ඔප නැංවෙමින් ආ කවීත්වය සමාජයේ විවිධ අවස්ථාවල දී අවියක් විදියට පාවිච්චි කළ අවස්ථාත් ඕනෑ තරම් තියෙනවා. ලෞකිකත්වයේ දී එන දේශානුරාගය හඟවන්නත්, දරු නැලවිලිවලටත්, පැල්හේන් රකින කොට කාන්සිය දුරු කරගන්නත්, ශාන්තිකර්මවලටත්, අනුන්ට වස් දෙස් තියන්නත්, හාස්‍ය රසය මතු කරන්නත් මේ කවීත්වය භාවිතා කර තියෙනවා වගේම, ලෝකෝත්තර පැත්තෙන් දහම් අරුත් රැගෙන යෑම සඳහාත් යොදාගෙන තියෙනවා.

අපේ තියෙන සිංහල කවීත්වය අනාදිමත් කාලයක පටන් පැවතුණත්, කවිය මුලින්ම ලෝක ප්‍රසිද්ධව පැවතුනේ සංස්කෘත භාෂාවෙන් ලියවුණු ශ්ලෝක විදියටයි. නමුත් බුද්ධාන්තර ගණනාවකට පෙර පටන් බුදු සසුන තුල කවීත්වය තිබුණු බවට ත්‍රිපිටක ධර්ම කාව්‍ය බුද්ධ ගාථා ආදියේ සඳහන් වෙලා තියෙනවා. ඒවත් කාව්‍යමයයි. ඒ වගේම පාලි භාෂාවේ එන ගාථා කියන්නෙත් කාව්‍යමය ස්වභාවයක්. මොකද කවීත්වය කියන්නේ සතර පද ගැළපීමෙන් තනා ගන්නා වැකිවලට විතරක් නෙවෙයි. යම් කිසි ශෛලියකට ක්‍රමානුකූලව ගෙතිල සකස්වන ක්‍රම රටාවත් කවීත්වයට අයිතියි. නිසඳැස් කියන්නෙත් එක්තරා කවි රටාවක්. ඒ විදියට එළිසම, එළිවැට නැතුවත් කවි හදන්න පුළුවන්. ඒ වගේම යම්කිසි ක්‍රමානුකූල රටාවකට අනුව කරන්න පුළුවන් දේශනා ශක්තියක් තියේ නම් ඒකත් කවීත්වයක්.

මේ ආකාරයෙන් වූ කවීත්වය ගැන කතා කරන කොට අංගුත්තර නිකායේ චතුක්ක නිපාතයේ 444 පිටුවේ එන කවි සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ කවියන් හතර දෙනෙක් ගැන සඳහන් කර තියෙනවා. **''චත්ථාරෝ මේ භික්ඛවේ කවි, කථ මේ චත්ථාරෝ, චින්තා කවි, සෘත කවි, අත්ථ කවි, පටිභාන කවි, ඉමේ බො භික්ඛවේ චත්ථාරෝ කවීති''** කියන බුද්ධ දේශනාවට අනුව ලෝකයේ තියෙන කවීත්වය මේ හතරෙන් කුමකට හෝ අයිති වෙනවා. දැන් මේවා එකින් එක දැන ගනිමු.

මෙතැනදී **පතපොත හදාරා අසා බලා අත්දැකීම් ඇතිව කවි ලියන්නේ සෘත කවියායි.** එනම් කටපාඩම් කරගෙන හෝ කාගෙන් හරි අසා දැනගෙන හෝ පොතපතක් බලාගෙන ඒක පිහිට කරගෙන හෝ ඉගෙනගෙන කියන කවීත්වයයි. අපි අද අහන කවි බණ කියන්නෙත් සෘත කවි වර්ගයක්. මොකද ඒවා කලින් හදාගෙන කටපාඩම් කර ගෙන හෝ පොතක් පතක් බලාගෙනයි කියන්නේ. ඒ වගේම කලින් පටිගත කරල හදාගත් කවිත් ඒ සඳහා ප්‍රයෝජනයට ගන්න පුළුවන්. ඊළඟට අපි අද අහන පැල්කවි, ගොයම් කවි ආදී කවි සීපදත් සෘත කවිවලට අයිතියි. මොකද ඒවා පරම්පරාවෙන් අහගෙන මුඛ පරම්පරාවෙන් පරෙස්සම් කරගෙන ඇවිත් ලියාගෙන භාවිතා කරන ඒවා නිසා. මේ විදියට කවුරුන් හෝ මූලිකව පද මාලාවන් ගෙතුව නම් ඒවා අද සෘත කවි විදිහට ගැනෙනවා.

ඊළඟට **අත්ථ කවි කියන්නේ අර්ථයට ප්‍රධාන තැන දීල ලියන කවියි.** එනම් ව්‍යංගාර්ථයෙන් යම්කිසි අර්ථයක් හැඟවෙන්න ලියන කවියි. දැන් මේ කියන සෘත කවි හා අත්ථ කවි අතර බොහෝ ළඟ සම්බන්ධතාවක් තියෙනවා. පහත කවියෙන් මේ කාරණය පැහැදිලි කර ගන්න පුළුවන්. මේ තියෙන්නේ පැරැන්නන් භාවිතා කරපු පැල් කවියක්.

කන්දේ ගෙදර දොර නවයක් සදාලා
නින්දේ ඉන්න තද ඇණ යතුරු දමාලා
බැන්දේ නවසියක් වැල් ගෙන ගොතාලා
මන්දේ යන්නෙ අද තනියම දමාලා

දැන් මේ කවිය පිටින් බැලුවම පේන්නේ යම් කිසි ලෞකික අර්ථයක්. ඒ අනුව යම්කිසි කන්දක තියෙන ගෙයක් ගැනයි කියන්නේ. මතුපිටින් පෙනෙන විදියට ඒක දොරවල් නවයක් දමා හදපු ගෙයක්. සැනසිල්ලේ ඉන්න ඒ දොරවල්වලට ඇණ යතුරු සරනේරු ආදියත් දාලා. එනම් සොර සතුරන්ගෙන් කිසිම බයක් සැකක් නැතිවෙන විදියට හදපු ගෙයක්. ඒක නවසියයක් වැල්වලින් හොඳට බැඳලයි තියෙන්නේ. ඉස්සර තිබුණු වරිච්චි ගෙයක් තමයි සිහියට එන්නේ. හැබැයි බොහොම ආරක්ෂාවට හදල තියෙනවා. ඉතින් මෙච්චර වෙහෙස මහන්සියෙන් හදපු මේ ගෙදර තනියම දමල යන්නෙ ඇයි කියලයි මේ අහන්නේ. දැන් එදා අර්ථ කවියක් වුණු මේ කවිය අපි අද පරම්පරාවෙන් ගෙනත් කටපාඩම් කරගෙන කියන නිසා අද ඒක සෘත කවියක් වෙනවා. එක පැලක ඉඳන් එක් කෙනෙක් මේ පැල් කවිය කියනකොට අනෙක් පැලේ ඉඳන් අනෙකා ඒකට උත්තරයක් මේ විදියට, එදා අත්ථ කවියක් වූ අද සෘත කවියකින් පවසනවා.

කන්දේ ගෙදර නයිදේටයි කියන්නේ
දිරන ගෙවල් නුඹ කුමට ද හදන්නේ
ගෙයක් හැර ගෙයක් නොතනා ඉඳින්නේ
ගෙන් ගියදාට ගෙයි ගිනිලති බොලන්නේ

ලෝක සම්මතයේ පිටින් පෙනෙන අර්ථය ගත්තොත් මෙතැන දී නයිදේ කියන්නේ ගෙදර අයිතිකාරයාටයි. මේ වගේ කොච්චර හොඳට ගෙවල් හැදුවත් ඒවා ඔක්කොම දිරල යනව නේද කියලයි මේ අහන්නේ. ඒ නිසා ඔය දිරල යන ගෙවල් හදන්නෙ නැතිව ඉඳපන්, නතර කරපන්, ඔය ගෙදර දාල ගියාම එදාට ගෙට ගිනි තියනවා, විනාශ වෙනවා ☞



කියන එකයි මේ කියන්නේ. හැබැයි මේ විදියට පිටින් පෙනෙන අර්ථය ගත්තට මෙතැන මීට වඩා ගැඹුරු අර්ථයක් තියෙනවා. ඒ පරමාර්ථ අර්ථයයි දැන් මේ හොයන්න යන්නේ.

මෙතනදී කන්දේ ගෙදර කිව්වේ මේ කන්දක් වගේ තියෙන පංචස්කන්ධයටයි. කන්දේ ගෙදර නයිදේ කිව්වේ පංචස්කන්ධය මගින් ''මම, මගේ'' කියන අදහසින් අල්ලාගත් සත්වයාටයි , පුද්ගලයාටයි. දොර නවයක් කිව්වේ ඇස් දෙක, කන් දෙක, නාසය, මළ මග, මුත්‍ර මග..... ආදී වශයෙන් ඕජස් ගලන, ජරාව පිටවන ස්ථාන වශයෙන් ගන්නා නවයකටයි. එතකොට පංචස්කන්ධය කිව්වේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාන කියන ස්කන්ධ පහකින් යුත් ගත සිත ඇති සත්ත්වයෙක් ගැනයි. මේ ශරීර කූඩුවේ ඇටසැකිලි එකින් එකට කුහර සන්ධි, ගෝල සන්ධි ආදී වශයෙන් තියෙන ඒවාට සම්බන්ධ වෙලා, ඒවාට මස්පිඬු හොඳින් සවිවෙලා තියෙන්නේ නැගිටලා ඉන්න, හාන්සිවෙලා ඉන්න, වාඩිවෙලා ඉන්න, ඇවිද ඇවිද ඉන්න, හැරෙන්න, පෙරළෙන්න පුළුවන් විදියේ තමන් කැමති ඉරියව්වකින් සිටීම සඳහායි. නින්දේ ඉන්න තද ඇණ යතුරු දමාලා කිව්වේ මේකටයි. දැන් මේ ශරීරය පිරෙන්න අල්ලාගත් මස්පිඬු, නවසියයක් නහරවැල්වලින් බැඳලයි තියෙන්නේ. බැන්දේ නවසියයක් වැල් ගෙන ගොතාලා කිව්වේ ඒකයි. ධර්මයේ සඳහන් වෙන කාරණයක් තමයි නහරවැල් නවසියයක් ගැන. හැබැයි ලේ ගමන් කරන නහර නෙවෙයි මේ කියන්නේ. බල නහර ගැනයි. එනම් මස්පිඬු එකින් එකට උඩින් යටින් සම්බන්ධ කරලා හිරකරලා වහලක රීප්ප බැඳල තියෙනවා වගෙයි. එහෙම තියෙන මේ කය මළාට පස්සෙ හිත එතැනින් චිත්තජ ක්‍රියා වැලක් ලෙසට නික්මිලා යනවා. මළ කඳ විතරයි ඉතුරු වෙන්නේ. ඉතින් ඔච්චර මහන්සියෙන් ඒ විදියට හදාගත් කය ඇයි අද දාල යන්නේ, අන්තිමට එහෙම දාල යන්න වෙනව නේද කියලයි මේ අහන්නේ. මේ විදියට තමයි අත්ථ කවියක අර්ථය තෝර ගන්නේ.

දැන් මේ පළමුවැනි කවියට අනෙක් කෙනා දෙවැනි කවියෙන් දෙන උත්තරයේ අර්ථයයි තෝරන්න හදන්නේ. ''මම, මගේ'' කියල අදහස් කරගෙන ඉන්න සත්වයාටයි කන්දේ ගෙදර නයිදේ කියල අමතන්නේ. මේ හදන හදන කය දිරල යනව නම්, නැසිල යනව නම් ඒ වගේ කයක් මොකටද හදන්නේ, ඒකෙන් ඇති ඵලය මොකක්ද කියලයි මේ අහන්නේ. ගෙය කියන්නේ ශරීරයට. මේ ශරීරයට තියෙන ආසාව අතහැරලා නැවතත් එකක් හදානොගන්නා තත්ත්වයට කටයුතු කරගන්න, මේ කය දාල ගියාට පස්සෙ ඒක පුච්චල දානවා, විනාශ වෙනවා. එතකොට යලි ගොඩනැගුවෙ නැත්නම් මේ පංචස්කන්ධය නිසා විඳින දුක නැතිවෙනව කියන එකයි, ගිනිලන ගේ මතු නොහදන්න කියල කියන්නේ. ඉතින් අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය මුල් කරගෙන තනපු පැල් කවියක් වුණත් අද එහි ලෝකෝත්තර අර්ථය යටපත්වෙලා ගිහින් මතුපිටින් පෙනෙන ලෞකික අර්ථය විතරයි ගන්නේ. මොකද මූලික වශයෙන් **අපේ ආදී පැරැන්නන් දහම තුළයි හිටියේ. දහම තුළ ඉන්න කොට කාන්සිය නැතිකර ගන්නත්, වනසතුන් පලවා හරින්නත් ආදී විවිධාකාර හේතූන් උඩ දහමට අනුව අර්ථවත්ව හදපු කවි තමයි අද වෙන කොට සීපද, පැල්කවි ආදී ලෙසින් ඇවිත් තියෙන්නේ.** මේ කවිවලත් ශෘංගාර හාස්‍ය, බීබත්ස්‍ය (භයානක) රස තියෙනවා. නමුත් එදා හිටපු අපේ පැරැන්නන් ඒවායේ තියෙන ශෘංගාර ආදී රස විතරක් නෙවෙයි ගත්තේ. ඒත් සමගම එන දහම් අදහසත් මනසට ගත්තා. ඒකෙන් මනස සැහැල්ලු වෙලා කයේ තියෙන විඩාබර ගතියත් සංසිඳුවා ගත්තා. මේ පැල් කවිත් එදා හදපු කෙනා අත්ථ කවියෙක්. ඒක අසා දැනගෙන ඉගෙනගත් කෙනා සාත කවියෙක් වෙනවා. අත්ථ කවියක් සාත කවියක් වෙන්නේ ඒ විදියටයි. මේ ආකාරයෙන් අපේ පරැන්නන් දරු නැළවිලි කවි ආදියත් දහම් අර්ථය මතුවෙන විදිහටයි හැදුවේ. නමුත් ඒවත් අද වෙන කොට ලෞකිකව මතුපිටින් පෙනෙන සම්මුති අර්ථයෙන් විතරයි ගන්නේ.

ඔන්න බබෝ ඇතින්නියා
ගල් අරඹේ සිටින්නියා
ගලින් ගලට පනින්නියා
බඹුට බයේ දුවන්නියා

මේ කවියත් පෙර හදපු අත්ථ කවියක්. දැන් සාත කවියක්. මේ කවියෙනුත් සාමාන්‍ය වශයෙන් මතු පිටින් ගත්තම නම් අර්ථය එන්නේ පුංචි ළමයෙකුට ඇතින්නියක් බය වෙලා දිව්ව හැටි පෙන්වන පුංචි සුරංගනා කතාවක් විදියටයි. නමුත් මෙහි මුල් පදයෙන් පෙන්වන්නේ ඇති තැන ඉන්නවා කියන එකයි. හෙවත් ''මම, මගේ'' කියන තැන ඉන්නවා කියන එකයි. ''මම, මගේ'' කියල අල්ලගෙන ඉන්න සත්වයාමයි ඇතින්න කිව්වේ. දෙවැනි පදයෙන් පෙන්වන ගල් අරඹ කියන එකෙන් අර්ථවත් වෙන්නේ බොහෝ තද කරගෙන, දැඩි කරගෙන ලෝභයෙන් අල්ලගෙන අරඹක් (කැළයක්) වැනි මානසිකත්වයක් තුළ, ඇතින්න කියන පුද්ගලයා ජීවත්වන බවයි. ගල්වලින් පෙන්වන්නේ මේ කියන දැඩි බවයි. හෙවත් රාග, ද්වේෂ, මෝහ සහිතව ජීවත් වෙනවා කියන එකයි. ගලින් ගලට පනිනවා කිව්වේ අල්ලගෙන උපාදාන කරගත් අත්භවයකින් තවත් උපාදාන කරගත් අත්භවයකට පනිනවා කියන එකයි. එතකොට උපාදානයෙන් භවය හටගෙන, භවයෙන් ජාති හටගත්තම නැවතත් උපාදාන කරගත් එකෙන් භවයට පනිනවා කියන එකයි. ඒ භවයෙන් නැවතත් ජාති හට ගන්නවා. කොටින්ම කියතොත් සත්වයාගේ අවිද්‍යාව තණ්හාව නිසා හටගන්නා භව ගමන ගැනයි මේ කියන්නේ. අන්තිම පදයෙන් පෙන්වන බඹූ කිව්වේ බුදුන් වහන්සේටයි. බඹ කියන්නේ බ්‍රහ්මාදී උත්තමයන් වහන්සේලායි. බඹුට බයේ දුවනවයි කිව්වේ බුදුන් වහන්සේ පෙන්වපු මේ බ්‍රහ්ම ධර්මය ඇහෙනකොට භව ගමනේ තව දුරටත් යන්න බැරිව, ඒ ගමනින් ඉවත්වෙලා දුවනවා කියන එකයි. මොකද ඒ ධර්මය ඇහෙන කොට ඔය විදියට පැන පැන අල්ලගෙන යන්න බෑ. සත්‍යය, යථාර්ථය වැටහුණාම එතනින් ඉවත් වෙනවා. භව ගමන ගැන බය හිතෙනවා. මේ තමයි කවියෙන් පෙන්වන පරමාර්ථ දහම් අර්ථය.

බොහෝ පෙර පටන් මේ විදියට එන තවත් කවියක් තමයි ''අම්බලමේ පිනා'' කියන කවිය. මේක බොහෝ කොටම පොඩි එවුන් හිනස්සන්න කියන හාස්‍ය රසය මුසු කවියක් විදිහටයි අද භාවිතා කරන්නේ.

අම්බලමේ පිනා පිනා
වළං කඳක් ගෙනා ගෙනා
ඒක බිඳපි ගොනා ගොනා
ඒකට මට හිනා හිනා

දැන් මේ කවිය අද ලෝක සම්මත අර්ථයෙන් මතුපිටින් තෝරන්නේ මෙහෙමයි. පිනා කියන මනුස්සයෙක් වළං කඳකුත් අරගෙන අම්බලමක ගිහින් ඉන්නකොට ගොනෙක් ඇවිදින් වළං ටික බිඳල දැම්මා, පිනා කියන මිනිහ බයවෙලා පැනල දිව්වා, ඒක දැකල මට හිනා ගියා.

නමුත් මෙතන තියෙනවා ගැඹුරු අර්ථයක්. මේ කවියත් එදා තිබුණු අර්ථ කවියක්. ඒක කට පාඩම් කරගෙන අද වෙන කොට අරන් එන නිසා සාත කවියක් වෙනවා. පරමාර්ථ වශයෙන් මෙතැනදී අම්බලම කිව්වේ මේ මස් ලේ කයටයි. ඒක රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංච කාමයන්ගෙන් පිනව පිනවා ඉන්නවා කියන එකයි, පළමු පදයෙන් කියන්නේ. නාම රූප කියන දෙක දෙපැත්තෙන් කඳ ගහගෙන නාමයෙන් රූපයයි, රූපයෙන් නාමයයි කියන මේ දෙක සම්බන්ධ කරගෙන තමයි නාමරූප පච්චයා විඤ්ඤාණං - විඤ්ඤාණ පච්චයා නාම රූපං...... ආදී වශයෙන් කඳ ගහගෙන මේ කය අරගෙන එන්නේ. මේ නාම රූප කියන්නේ බිඳිල යන දෙයක්. ඒක තමයි දෙපැත්තෙන් කඳ ගහගෙන එන වළං කඳට උපමා කළේ. වළං කියන්නේ කැඩිල බිඳිල යන දෙයක්. වළං කඳක් ගෙනාවයි කිව්වෙ ඒකයි. ඒක බිඳපි ගොනා ගොනා කියන්නේ, ඒ නාම රූප කියන එක ගෞතම බුදුන් වහන්සේගේ ධර්මයෙන් බින්දා කියන එකයි. මෙතන දී ගෞතම කියන නම තමයි ගොනා කියන වචනයට කෙටි කළේ. ''ගො'' කිව්වේ ගෞතම, ''නා'' කිව්වේ නායකයා. ගෞතම ☞

නායක කියන්නේ ගෞතම නායක කියන එකයි. ගොනා කියන වචනය අරගෙන තියෙන්නේ ඒ ඒ ගෝත්‍රවල නායකයා පෙන්වන්නයි.

නමුත් ඒ වචනයත් අද වෙන කොට හරකට කියන නමක් විදියටයි පටබැඳිල තියෙන්නේ. එහෙම නැත්නම් පහත් වචනයක් හඟවන්න තමයි අද ඒක භාවිතා කරන්නේ. නමුත් ගෞතම ගෝත්‍රයේ නායකයා කියන එක පෙන්වන්නයි මෙතැන දී ගොනා කියන වචනය පාවිච්චි කළේ. හැබැයි අද වෙන කොට ගොනා කියන්නේ ඒ අර්ථයෙන් නෙවෙයි. අද බොහෝ අපහාසාත්මක වචනයක් විදියටයි ඒක පාවිච්චි කරන්නේ. හරි අර්ථය යටපත්වෙලා ලෞකික අර්ථයක් උඩට ආපු නිසයි එහෙම වෙලා තියෙන්නේ. හරකා දේවත්වයෙන් සැලකූ පෙර පිංවතුන්, උසස් සත්වයින් නායකයා ලෙස සලකලයි වෘෂභයාට ගොනා කියල කිව්වෙ. හොඳට අං තියෙන මොල්ලිය තියෙන උසස් පිරිමි සතෙක් තමයි ගව ගෝත්‍රයක නායකයා විදිහට තෝර ගත්තෙ. ගෝත්‍රයේ නායකයා කියන ගෞරව නාමයෙන් තමයි මේක ඒ කාලෙ පාවිච්චි කළේ. වෘෂභ රාජ හෙවත් වසභ රජු කිව්වෙත් මේ වගේ ගෞරව අර්ථයකින්. වාසයට හිතවත් (අඹ) කියන එකයි වසභ කියන්නේ. නමුත් පසු කාලයක ඒක නිගරු වචනයක් වුණා.

ඒකට මට හිනා හිනා කියන අවසාන පදයෙන් පෙන්වන්නේ බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරලා, සසර දුක නැති කරලා, නාම රූප බිඳ හරින මාර්ගය පෙන්වා දීපු නිසා මට බොහොම සතුටුයි කියන එකයි. කවදද මේ වගේ දුර්ලභ ධර්මයක් අහල නාම රූප ධර්ම බිඳහැරල මේ මිනිසුන් නිවන් දකින්නේ? ඒ අදහසින් තමයි මට මේ වගේ ලොකු සතුටක් ඇති වුණේ. මේ තමයි මේ කවියෙන් පෙන්වපු සැබෑ අර්ථය. අර්ථ කවියක් වුණේ ඒ නිසයි. දහමේ තියෙන අසා දැනගත් කාරණයන් තමයි අපේ පැරණි කවිවලට නගල තියෙන්නේ. ලෝ වැඩ සඟරාව ගත්තත් පෙළ දහමේ තියෙන දහම් කරුණු අරගෙන දැනුවත් වෙලා තමයි ඒ කවි පද හදල තියෙන්නේ.

මස් ලේ නැති ඇට බලු ලෙවකන්නේ
කුස් පිරුමක් ඵලයක් නොලබන්නේ
ලෙස් ඒ සැපතෙහි ලොබ නොසිතන්නේ
දොස් නොපෙනෙනු මිස දුක් මයි වන්නේ

බල්ලන් මස් ලේ නැති ඇටකටු ලෙව කෑවත් එයින් බඩ පිරීමක් හෝ කුසගිනි නිවීමක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ හා සමාන වූ පංච කාම සම්පත්තිය සැපයි කියල හිතන්න එපා. ඒ පංච කාම සැපයේ දොස් පේන්නෙ නැත්නම් සිද්ධ වෙන්නෙ දුකක් පමණයි. මේ තමයි දහම් අරුත.

සයට නේද රස මුසු බත් කන්නේ
ගඳට නේද ඇඟ සුවඳ කරන්නේ
ලෙඩට බේති මේ මෙලොව සතුන්නේ
කුමද මීට සැපයකැයි සිතන්නේ

රස මිශ්‍ර ආහාර ගන්නේ බඩගින්නට නේද? ශරීරය සෝදා පවිත්‍ර කර සුවඳ ගල්වන්නේ ගඳ නිසා නේද? මේවා කය නමැති රෝගයට දෙන බෙහෙත් ලෙස හිතනවා මිසක් සැපයි කියල හිතන්න එපා.

රස මිශ්‍ර ආහාර ගැනීම සැපයක් කියල හිතුවොත් ඒ ආහාරයම දිගටම ගන්න පුළුවන් නේද? නමුත් ඒ ආහාරය එක්තරා ප්‍රමාණයක් කුස පිරෙනකල් ගිල දැමුවට පස්සෙ නැවතත් ගන්න ගියොත් ඔක්කාරෙටත් එනවා. දැන් ඒකෙ සැපයක් නෑ. ඒක දැන් අප්‍රියයි. ඉතින් දවසක් දෙකක් ඇඟ සෝදා පවිත්‍රකර නොගෙන හිටියොත් පැත්ත පලාතෙ ඉන්න බෑ ගඳ ගහනවා. දාඩිය ගඳ, මළ මුත්‍ර ගඳ මේ ඔක්කොම ඉවසගන්න බැරිව යනවා. ඉතින් මොකද කරන්නේ, අප්‍රියතාවය යන්න බාහිරින් සුවඳ ගල්වනවා. නමුත් ඒ සුවඳ තියෙන්නේ අදාල විලවුන්වල මිසක් කයේ නෙවෙයි. බේත් හේත් කියල ගන්නෙත් කය ලෙඩ ගොඩක් නිසයි. විටමින් වර්ගයි, අධිපෝෂයයි කියල රටේ ලෝකෙ තියෙන තරමක් ගිල දාන්නේ කය ලෙඩ ගෝදාවක් නිසයි. ඒවා ගන්න එක නැවැත්තුවොත් කයට වෙන දේ බලාගන්න පුළුවන්. ඉතින් මේකට සැපක් කියල කියනව නම් ඒ මොන මෝඩකමක්ද?

දැන් මේ වගේ පෙළ දහමේ තිබිච්ච වටිනා දහම් අරුත් අරගෙන ගොතපු කවි එදා පාසල් පොත්වල තිබුණා. ඒ නිසාම පොඩි කාලෙ ඉඳලම ළමයි දහමට අනුව හැදෙන්න විශාල පිටිවහලක් වුණා. **නමුත් දැන් ඒ මහා වටිනා කොටස් පාසල් විෂය නිර්දේශයෙන් ඉවත් කරලා මනුෂ්‍යයාගේ රාග, ද්වේශ, මෝහ අවුස්සන, එක එක්කෙනා තමන්ගේ හිතු මනාපෙට ලියපු නවකතාවල්, කෙටිකතාවල් තමයි දැන් පාසල්වල උගන්වන්නේ.** අද මේවගේ වටිනා පැරණි කවි තිකමටවත් කනට ඇහෙන්නෙ නෑ. මේ නිසා එදා තිබිච්ච ඒ වටිනා කවි අද ළමයි දන්නෙ නෑ. ඉතින් කොච්චර විනාසයක්ද කරල තියෙන්නේ. ඒකෙන් සිද්ධ වුණේ සමාජයේ විශාල පරිහාණියක් ඇතිවෙලා, දූෂිත ළමා පරපුරක් බිහිවෙලා මුලු සමාජයම පිස්සන් කොටුවක් බවට පත්වීම විතරයි. **මේකෙ සුළමුල ගත්තොත් අපේ පරපුර දහමින් ඈත් කරන්න කරපු එක්තරා කුමන්ත්‍රණයක්. මේවට තමයි නියම කුමන්ත්‍රණ කියන්නේ.**

මේ තියෙන්නේ තවත් අපේ පැරණි කරත්ත කවියක්.

තණ්ඩලේ දෙන්න දෙපොලේ දක්කනවා
කටු කැලේ ගාල නොලිහා වධ දෙනවා
හපුතලේ කන්ද දැකලා බඩ දනවා
පවු කළ ගොනෝ ඇදපන් හපුතල් යනවා

එදිනෙදා ජීවිතයේදී පවු කරපු අයට සිද්ධ වෙන දේවල්, පවු කරලා තිරිසන් වෙලා විඳින්න තියෙන දුක් කම්කටොළු සහිත ලෝකයේ ස්වභාවය, තිරිසන් වෙලා පවු ගෙවන හැටි, ලෝකයේ ජීවත් වෙන්න කරන වෙහෙස මහන්සිය, ඒ සඳහා විඳින දුක... මේ වගේ කාරණා තමයි එදා කවියට නැගුනේ.

එක්වෙන දාට සුකිරි මී පැණි සේමා
වෙන්වෙන දාට කරවිල තිබ්බටු සේමා
සිහිවෙන විටදි මේවා ඉවසන් කෝමා
දීගෙක ගියේ මොන හිතකින්දෝ සෝමා

මේ තවත් ජනප්‍රිය පැරණි පැල් කවියක්. විවාහයක් සිද්ධවෙනකොට එහි මතුපිටින් පෙනෙන සුන්දර ප්‍රිය මධුර ස්වභාවයත්, ඉන්පසු කලක් ගතවෙද්දී එයින් ඇතිවන දුක් කම්කටොලු අම්හිරි ස්වභාවයත් තමයි මේ කවියෙන් පෙන්වන්නේ. ඒවං උපසංහරති කියල පෙන්වන, එසේ උපමා කොට සංසන්දනය කර බලන්න කියන දහමට අනුව, ඒ සුන්දර ප්‍රිය මධුර ස්වභාවය සුකිරි හා මී පැණිවලටත්, කටුක අම්හිරි ස්වභාවය තිත්ත කරවිල හා තිබ්බටුවලටත් උපමා කොට අපූරුවට එහි ස්වභාවය පෙන්වා තියෙනවා.

ඊළඟට **හිතාමතා බොහෝ කල්පනා කොට කවි ලියන හෝ කියන කෙනාට තමයි චින්තා කවියා කියන්නේ.** එවෙලේම මොනව හරි අදහසක් හිතාමතා ගොතල කියන එකයි මෙහි දී කරන්නේ. අපි අද කියන හිටිවන කවිත් වැටෙන්නේ මේ වර්ගයටයි. ඒ කාලයේ රජගෙදර හිටපු අන්දරේ කියන පුද්ගලයත් කෙනෙකුගේ හැඩරුව, ස්වභාවය ආදිය අරගෙන අපහාස, උපහාස කරන්න කවි ගොතල තියෙනවා. ඔහු එක්තරා අවස්ථාවක දී රා බොන්න යනකොට රා දුන්නෙ නෑ කියා වස් වෙන විදියට කවියක් ගොතල කිව්වා. ඒක චින්තා කවියක්.

බඳින බඳින හැර වැර පොට කැඩීයන්
තබන තබන පය ලිස්සා වැටීයන්
කපන කොටන පිහියේ ලේ හැලීයන්
මට රා නොදුන් තෝ ගහ මුල වැටීයන්

දැන් **මේ වගේ මොනව හෝ හැඩරුවක්, ස්වභාවයක් අරමුණු කරගෙන එවෙලෙම හිතල ගොතන කවි තමයි චින්තා කවි කියන්නේ.** මේ කවිය අහගෙන කට පාඩම් කරල මතක් කරගෙන කියන කොට අද ඒක සෘත කවියක්. මේ විදියට චින්තා කවියක් සෘත කවියක් වෙන්නත් පුළුවන්. හැම වෙලේම ආයාසයෙන් හිත හිතා ගන්න එක තමයි මෙතන තියෙන විශේෂත්වය.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කුසල් අකුසල් හඳුනා ගනිමු

අම්මා තමයි ගුණවත්. කුඩම්මා නපුරුයි. මේ තමයි සමාජ පිළිගැනීම. කු + අඩය - කුඩය. මෙතැන "කු" යෙදුනේ පහත් කියන අදහසින්. කු කියන්නේ ඉහළින් එන කුණුවලට. අඩ කියන්නේ බාගයට. ඉහලින් එන කුණු ඉවත් කරන්න ගන්න බාගය තමයි කුඩය කිව්වේ. කුඩයෙන් කරන්නේ ඉහලින් එන අපවිත්‍ර දෑ ඉවත් කරන එක. පංචකාම සම්පත්තියම ඇති, වර්ණයෙන් ලස්සන , නාසයට සුවඳ , දිවට රස, අතට මුදු පහසට, 'බරස්' ගාලා සද්දෙට හැපෙන ආහාර සකස් කරන්නේ කුස්සියේ. හිත පහත් බවට පත් කරන ජාති උස්සගෙන එන්නෙ කුස්සියෙන්. එතැනදිත් 'කු' යෙදුනේ පහත් කියන අදහසින්. මේ එක අර්ථ දැක්වීමක්. කුඩා+අම්මා කියන්නෙත් කුඩම්මා කියන අර්ථයයි. අම්මගේ බාල සහෝදරියටත් එසේ කියනවා. මහම්මා - ලොකු අම්මා කියල වැඩිමහල් සහෝද-රියන්ට කියනවා. බාල කියන එකෙත් අර්ථ දෙකක් තියෙනවා. බාල බඩු ආදී වශයෙන් යොදන්නේ පහත් බව, වංක බව හඟවන්නයි.

**කුසල් කියන්නේ පහත් දේ සලාහරිනවා කියන අදහසයි.** සමහර තැනකදී අපට අහන්න ලැබෙනවා කුසල් කියන්නේ කුසලතාවය, අකුසල් කියන්නේ දුබලතාවය කියල. ඒ අදහස හරියි කියල ගත්තොත්, බෝම්බ හැදීමේ කුසලතාවය ඇති අය විනාශකාරී බෝම්බ හදනවා. පික් පොකට් ගැසීමේ කුසලතාවය ඇති අය පික් පොකට් ගහනවා. විශාල පරිමානයේ වංචා දූෂණ කිරීමේ කුසලතාවය ඇති අය විශාල වංචා දූෂණ කරනවා. නමුත් මේ අයත් දිව්‍ය ලෝක ආදී සුගතියක ඉපදීම හෝ නිවන ලබාවිද? ඍද්ධි ප්‍රාතිහාර්ය පෑමේ කුසලතාවය තිබ්බ්ච දෙව්දත් තෙර නිවන් දැක්කද?

චුල්ලපන්ථක පුංචි හාමුදුරුවන්ට සතර පද ගාථාවක් කටපාඩම් කර ගැනීමේ නොහැකි කම දුබලතාවයක්, නිවනට බාධාවක් කියල හිතපු නිසා තමයි මහාපන්ථක හාමුදුරුවෝ පුංචි හාමුදුරුවන්ට ගෙදර යන්න කිව්වේ. නමුත් බුදු පියාණන් වහන්සේගේ දයානුකම්පාව හා මග පෙන්වීම මත උන්වහන්සේට අරිහත්වයට පත්වෙන්න පුළුවන් වුනා. බුද්ධ කාලයේදීත් කුසලතාවයක් නැතිව නිවන් දකින්න බැහැයි කියල හිතපු අය ඉඳල තියෙනවා. **කුසලතාවය හෝ දුබලතාවය කියන්නේ පෙර කරපු කුසල අකුසල කර්මවල විපාක මිසක් කුසල් අකුසල් නොවේය යන්න විමසුම් නුවණින් තේරුම් ගත යුතුයි.**



"කරණියමත්ථ කුසලේන යං තං සන්තං පදං අභිසමෙච්ච සක්කෝ උජූච සුජූච........' යනුවෙන් යම්, ඒ සාන්ත පදය නම් වූ නිවන ලබනු පිණිස කළ යුතුම වැඩ පිළිවෙල දේසනා කරන බුදුපියාණන් වහන්සේ, පළමුවෙන්ම 'සක්කෝ' විය යුතු බව පෙන්වා තියෙනවා. මෙහි තේරුම සිංහලෙන් දක්වා තියෙන්නේ දක්‍ෂයෙක් විය යුතුයි කියලයි. කුසලතාවය තියෙන්නේ දක්‍ෂයින්ට. නමුත් සබ්බ පාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා - සචිත්ත පරියෝ දපනං - ඒතං බුද්ධාන සාසනං..." කියන ගාථා රත්නය විමසා බලමු. සියලු පව් නොකරන්න. කුසල් සම්පාදනය කරන්න. මුල් පද දෙකේ සරල තේරුම ඒකයි. ඒ සඳහා කළ යුතු දෙය තුන්වැනි පදයෙන් දක්වා තියෙනවා. සචිත්ත පරියෝ දපනං.......... ස්ව චිත්ත පරියාය දමනය කරන්න. **මේ ලෝක සත්වයාගේ චිත්ත පරියාය නම්, පංචකාම සම්පත් විඳීමේ බලාපොරොත්තු සාර්ථක කර ගැනීමේ වැඩ පිළිවෙලයි. සිතිවිලි, ක්‍රියා, වදන් මෙහෙයවන්නේ ආස්වාද විඳීම මූලික කරගෙන.** මනස පූර්වාංගමව මෙබඳු කරජ කයක් සකස් කරගෙන තියෙන්නේ ආස්වාද විඳීමේ බලාපොරොත්තුව නිසා. සිතිවිලි ක්‍රියා කරන්නේ මේ කය හැඩ වැඩ කරගන්න, ඇඳුම් ආයිත්තම්වලින් අලංකාර කර ගන්න, සුවඳ ගල්වන්න, කය ශක්තිමත් කර ගන්න, නිරෝගී කර ගන්න, ඊට ගැළපෙන රස මුසු ආහාර ගන්න...... ආදී වශයෙන් වූ වැඩ පිළිවෙලකටයි. මේ වැඩ පිළිවෙලට කැමැත්ත ඇති තාක්, ඊට බාධා සිදුවන ඕනෑම දෙයක් හෝ බාධා කරන ඕනෑම සත්වයෙක් හෝ විනාශ කිරීමෙන් තමාගේ බලාපොරොත්තු අවශ්‍යතා ඉටුකර ජය ගැනීමයි චිත්ත පරියාය වන්නේ.

බුදු පියාණන් වහන්සේලා මේ චිත්ත පරියාය දමනය කරන මග පෙන්වා තියෙනවා. මේ ලෝකය අපි කැමති විදිහට පැවැත්විය නොහැකි නිසා, නිතර පෙලෙන්න වන නිසා පරිහරනයට අනිසි බව හෙවත් අනිච්ච බව, කැමති දේ ඉටු නොවීම නිසා ඒ අනිසි දේ දුක්ඛ බව, එබඳු ලෝකය අසාර බව මෙනෙහි කරන්න, මේ ආස්වාද මිහිරි මදුර සේ පෙනුනත්, ඒ ආස්වාද පසුපස ඇති ආදීනව අමිහිරියි, කටුකයි, දුක් වේදනා සහිතයි කියා ආදීනව විමසා බලන්න. මෙසේ පංච කාම ආස්වාදයන්ගේ ආදීනව දැක ඒ කෙරෙහි නොඇල්මක් ඇති වුනාම, ඒක මිදීමට මග වෙනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කෙරෙහි අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය වටහා ගත්තම , මෙබඳු අසාර ලෝකයක අන්‍යයන්ට හිංසා පීඩා කරල මොන වටිනා ආස්වාදයක් ලබන්නද කියල ප්‍රාණඝාතයෙන් වෙන්වෙනවා. අන්‍යයන්ගේ දේ ☞

බලෙන් පැහැර ගෙන මොන වටිනා ආස්වාදයක් ලබන්නද කියල අදත්තාදානයෙන් වෙන්වෙනවා. මේ විදිහට **අසාර ලෝකයේ ආස්වාදයන්ගේ වටිනාකම අඩු වෙනකොට දස අකුසලයෙන්ම වෙන්වෙනවා.** දස අකුසලයෙන් වෙන්වීම කුසලයයි. කුසලස්ස උපසම්පදා වුනාම, ඊට සමගාමීව සබ්බ පාපස්ස අකරණං යන සියලු අකුසලයන් නොකරන්න ක්‍රම ක්‍රමයෙන් හිත පිහිටා අරිහත්වයෙන් සම්පූර්ණ වෙනවා.

දක්ෂයෙක් හෙවත් කුසලතාවයක් තියෙන කෙනෙක් වෙච්ච පමණින් මේ ටික කරගන්න බෑ. ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත බව ප්‍රඥාවෙන් දැකීමෙනුයි කුසල් වැඩෙන්නේ, අකුසල්වලින් වෙන්වෙන්නේ. දස අකුසලයම තමයි පහත් දේ. පහත් දේ සලා හැරීම කියන අර්ථයයි කුසල් කියන්නේ. මේ බව ඉහත පැහැදිලි කිරීම අනුව තේරුම් ගත යුතුයි. දස අකුසලයෙන් වෙන්වීම උත්සාහයෙන්, වීර්යයෙන්, මනා සිහි නුවණින් කළ යුතු දෙයක්. කුසලතාවය පෙර කරපු කර්මයක විපාකයක්. මේ අනුව පද දෙක පුංචි වුනාට කුසල්, අකුසල් හරිහැටි තෝර ගත්තෙ නැත්නම් නිවන් මග වැහෙනවා. **දක්ෂයෝ කුසලතාවයෙන් අපා ගත වෙන වැඩත් කර ගන්නවා.** සක්කෝ කියන්නේ දක්ෂකම කියල ගත්තොත් එතැනත් නිවන වැහෙනවා. දස අකුසලයෙන් වෙන්වීම පිරිසිදු වීමක්. සිත, කය, වචනය සුද්ධ වීමක්. **සක්කෝ කිව්වේ සිත, කය, වචනය පිරිසිදු කර ගන්න, ශුද්ධවන්තයෙක් වෙන්න කියන අදහසින්.**

බෞද්ධ දර්ශනය දැනගැනීමට නම් බුද්ධ වචනය අනුව විමසා බැලිය යුතුයි. බුදුන් වහන්සේ "පසැස්" නමිනුත් හඳුන්වනවා. මසැස (මස් ඇස), දිවැස (දිව්‍යඥානය), පැණැස (ප්‍රඥාව), බුදු ඇස (සියළු ලෝක සත්ත්ව ස්වභාවය දකින නුවණ), සමණැස (සියල්ල දත් නුවණ) කියන ඇස් පහකින් දැකීමේ හැකියාව ඇති නිසයි එහෙම හඳුන්වන්නේ. මස් ලේවලින් හැදිච්ච පේන්න තියෙන කරජ කයේ ඇති ඇසින් දකින්න පුළුවන්. නමුත් මේ ඇසට නොපෙනෙන බොහෝ දේ විශ්වයේ තියෙනවා. සමහර දේවල් අපි මනසින් දකිනවා. සිහින දැකීම, අතීත සිදුවීම් සිහි කරන කොට මැවෙන රූප දැකීම ආදිය මනසින් දැකීම් ලෙස ගන්න පුළුවන්. මේ දැකීම්, දකින්නා දකිනවා මිසක් දකින බව තවත් කෙනෙකුට පෙන්වන්න පුළුවන් කමක් නෑ. තව කෙනෙකුට පෙන්වන්න බැරි වුනාට නොදැක්ක වෙන්නෙ නෑ. මේ මනස දියුණු කරන්න පුළුවන්. කය සංවර්ධනය කරන අය (බොඩි බිල්ඩිං) විවිධ උපකරණ හා ශාරීරික අභ්‍යාස මගින් මාංශ පේශි වර්ධනය කර, විවිධ හැකියාවන් ප්‍රදර්ශනය කරනවා. මේවගේ මනස දියුණු කිරීමේ ක්‍රමවේද මගින් මනස දියුණු කළාම, මේ භෞතික ඇසින් දකින්න බැරි කිරණ මට්ටමේ ඇති රූප දකින්න පුළුවන්. කරජ කායික කනට ඇහෙන්නෙ නැති ශබ්ද තරංග අහන්න පුළුවන්. මේ දැකීම දිවැස, දිව්‍යමය ඇසින් දැකීමයි. යම් ක්‍රියා මාර්ගයක් ප්‍රගුණ කිරීමෙන් ලබන අත්දැකීම් ඇසුරින් ප්‍රඥාවන්තව සිතා බලා, මේවා මෙසේ වැඩි දියුණු කරන්න පුළුවන්. මෙසේ කිරීමෙන් පිරිහීම සිදුවේ, මෙසේ කිරීමෙන් දියුණුවීම සිදුවේ කියල දකින්න පුළුවන් නුවණක් තියෙනවා. මේ නුවණැසට පැණස කියල කියනවා. දම්සක් පැවතුම් සූත්‍රයේ ....ඤාණං උදපාදි, ආලෝකෝ උදපාදි......... ආදී වශයෙන් විස්තර කරන්නේ මේ පැණස පහළ වූ බවයි. දිවැසින් හෝ පැණසින් දකින දේවල්ද මනසින් දකින දේවල් වගේම තව කෙනෙකුට බලාගන්න පුළුවන් කමක් නෑ. ඒ මට්ටමට මනස දියුණු කළ කෙනෙකුට දකින්න පුළුවන්.

**කාය වර්ධනය කර පෙන්වන විවිධ හැකියාවන් අනෙක් අයට පුදුම සහගත වෙනව වගේ, මේ පැණසින්, දිවැසින් දකින දේවල් ශ්‍රමණ, බ්‍රාහ්මණ ආදීන් දැකල, පෙනිලම තමයි ප්‍රකාශ කරන්නේ.** එබඳු හැකියාවන් තියෙන ශ්‍රමණ බ්‍රාහ්මණ ආදීන් ලොව නැතැයි සිතීමත් දස වස්තුක මිථ්‍යා දෘෂ්ටියට වැටෙනවා. එබඳු ප්‍රකාශ කිරීම් සාමාන්‍ය පුද්ගලයින්ට විශ්වාස කරන්න අමාරු පුදුම දේවල් වෙන්න පුළුවන්. නමුත් ඒ පෙනීම තමා තුළ නැති වුනාට ඒවා එකවර ඉවත දමන්නෙත් නැතිව, එකවර පිළිගන්නෙත් නැතිව, ඒ අය වගේ තමන්ගේ මනසත් දියුණු කළොත් තමන්ටත් දකින්න පුළුවන්. ලාභ, කීර්ති, ප්‍රශංසා බලාපොරොත්තුවෙන් අසත්‍ය ප්‍රකාශ කරන අය ගැන නෙවෙයි මේ කියන්නේ. බොරු කියන, කරන ඒවා බොහෝ කල් ඒ විදිහට කරගෙන යන්න බෑ. ධර්මතාවය විසින් ඒවා ලෝකයාට එළිදරව් කරනවා.

මේ දිව්‍යමය ඇසටත් වඩා ප්‍රඥා ඇස හෙවත් පැණැස බලවත් වෙනවා. බුදුපියාණන් වහන්සේ ප්‍රඥාවන්ත බව ලබන හැටි දේශනා කර තියෙනවා. ම.නි.(3) <u>චූල්ලකම්ම විභංග සූත්‍රයේ</u> 441 පිටුවේ මෙසේ සඳහන් වෙනවා.

"ස්ත්‍රියක් වේවයි, පුරුෂයෙක් වේවයි ........ මහණකු හෝ බමුණකු වෙත එළඹ, වහන්ස, කුසල් කිම? අකුසල් කිම? සාවද්‍ය කිම? අනවද්‍ය කිම? සෙවිය යුත්ත කිම? නොසෙවිය යුත්ත කිම? මා විසින් කුමක් කරනු ලබන්නේ දීර්ඝ රාත්‍රියෙහි අහිතයට දුක්ඛයට වැටේ ද? යළි මා විසින් කුමක් කරනු ලබන්නේ හිත සුව පිණිස පවත්වන්නේ වේදැ" යි විචාරනුයේ වෙයි යන යමක් ඇත්ද, තෙල ප්‍රතිපදාව මහා ප්‍රඥාව බව පිණිස පවත්නී වේ............''

එහෙනම් මේ ප්‍රශ්නවලට ධර්මානුකූල නිවැරදි පිළිතුරු අසා දැන ගන්නා ඔහු හෝ ඇය මහා ප්‍රාඥ වෙනවා. අසා දැනගෙන මිසක් ඒවා ලියා ඇති පොතක් කියවීමෙන් හෝ සීඩී වැනි ශ්‍රව්‍ය මාධ්‍යයකින් අසා හෝ මහා ප්‍රාඥ වෙන්න බෑ කියන එක මේ බුද්ධ දේශනාවෙන් පැහැදිලි වෙනවා. කියවීමෙන් ලැබෙන්නේ දැනුමයි. පොතපත කියවා හෝ ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍ය මගින් හෝ දැනුම ලබා ගෙන තිබීම ප්‍රඥාව ලැබීමට උපකාර වෙනවා. මහණකු හෝ බමුණකු කියන්නේ කාටද? මහ අණ පිළිපදින්නේ මහණ වෙනවා. මහ + අණ නම් බුදු පියාණන් වහන්සේ දේශනා කරපු " සබ්බ පාපස්ස අකරණං............ ඒතං බුද්ධාන සාසනං " යනුවෙන් දක්වා ඇති මහ අණයි. එනම් සියලු පව් නොකරන්න, කුසල් සම්පාදනය කරන්න.

ඒ සඳහා ස්ව + චිත්ත - සචිත්ත - ඇස, කන, නාසය, දිව, කය, මනස, මුල් කරගෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන අරමුණු සමග ස්පර්ශ කරමින් සිතිවිලි, ක්‍රියා, වදන් මගින් සංඛාර ගොඩ නගන පරියාය හෙවත් වැඩපිළිවෙල දමනය කරන්න කියන එකයි. මේ තමයි මහ අණ. සංඛාර ගොඩනගන වැඩපිළිවෙල දමනය කරපු තැනැත්තා මහණ හෙවත් රහතන් වහන්සේයි.

බහ + මණ - බමුණා - බහ කරනවා කියන්නේ දවා අළු කරනවා කියන එකයි. (භෂ්මාවශේෂ කියන්නේ දැවූ අළු) මනසින් සංඛාර ගොඩනගන වැඩ පිළිවෙල දවා අළු කළ තැනැත්තා බමුණා වෙනවා. එහෙනම් නියම විදිහට බමුණා කියන්නෙත් රහතන් වහන්සේට. අෂ්ටාර්ය පුද්ගලත්වයෙන් පූර්ණ වන මහණ බමුණු මග, අරිහත් ඵලයෙන් පූර්ණ වෙනවා.

**මහණෙකු හෝ බමුණෙකු වෙත එළඹ අසා දැන ගත යුතු යමක්, වෙනත් කෙනෙකු වෙත එළඹ අසා දැන ගැනීමෙන් මහා ප්‍රාඥ වෙන්න බැරි බව** මේ අනුව තේරුම් ගත යුතුයි. මේ අනුව බෞද්ධ දර්ශනය නම් භවය උදුරා දමන ක්‍රමවේදය දැකීමයි. එනම් මේ පංචකාම ආස්වාද ලෝකය අනිච්ච බව, දුක්ඛ බව, අසාර බව දැකීමයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

**4 වන කොටස**

ඔසුපත් නරකයට අයත් අපායවල්වලින් විශේෂ කිහිපයක ස්වභාවය පසුගිය කලාපය අවසානයේ විග්‍රහ කළා. ඊළඟට මේ ඔසුපත් නරකයේ සාමාන්‍ය පොදු ස්වභාවය ගැනත් වැඩිදුර විස්තර ටිකක් දැන ගැනීම වැදගත්.

මේ අපායට පොදුවේ පොල් ලෙලි අපාය කියලත් අපේ පැරැණ්නන් භාවිතා කළා. එතනදී පොල් ලෙලි තලනව වගේ බරපතල වැඩ දෙනවා. මේ ලෝකයේ තියෙන කැන්ද ලීයක් වගේ සැහැල්ලු ලීයක් තමයි පොල් ලෙලි තලන්න ලැබෙන්නේ. ඉතින් කොච්චර හයියෙන් ගැහුවත් වැඩක් නෑ, කැන්ද ලීය සැහැල්ලු නිසා නැවතත් කැරකිලා ඇවිත් තමන්ගෙම ඔලුවෙ වදිනවා. පොල් ලෙලි තැලෙන්නෙ නෑ. කැන්ද ලීය කැඩුණොත් කරුමෙට තවත් එකක් මැවිල අතට එනවා. කොච්චර ගැහුවත් පොල් ලෙලි තැලෙන්නෙ නෑ. නිශ්ඵල වෙහෙසක්මයි සිද්ධ වෙන්නේ. ඒ කියන්නේ **මේ ලෝකයේ මනුස්සයන් වෙලා සිටියදී මිනිස්සුන්ට වධ හිංසා දීලා, අනුන් නිශ්ඵල වෙහෙසට පත්කරවලා වැඩ ගැනීමේ විපාකය තමයි** මෙතනදී විඳින්න සිද්ධ වෙන්නේ. උදාහරණ විදිහට අදටත් සමහර වතු වල කංකාණම් උන්නැහේලා කම්කරුවන්ව නිශ්ඵල වෙහෙසකට පත්කරවලා වැඩ ගන්නවා. වැඩ තියෙනවට නෙවෙයි තරහට, පලිගන්න ඕනවට, මහන්සි වෙන විදිහේ වැඩ දෙනවා. නමුත් ඒවායින් අවසානයේ වැඩක් නෙවෙයි නිශ්ඵල වෙහෙසක්මයි සිද්ධ වෙන්නේ.

එක්තරා කාලයක සුළු වෙලාවක් මැරිච්ච (සිහි නැති වෙලා හිටපු) මනුස්සයෙක් මේ කියන ඔසුපත් නරකයට ගිහින් තිබුණා. නමුත් යම ලොවින් ඔහු නියම පුද්ගලයා නොවන බවට විනිශ්චයක් දීලා නැවතත් මනුස්ස ලෝකයට එවල තිබුණා. එතකොට එහේ පොල් ලෙලි තල තලා හිටපු ඒ ගමේම කෙනෙක්, උඹත් මෙහෙ ආවද කියල ඒ පුද්ගලයගෙන් අහල තිබුණා. ඔහු සිහිය ආවට පස්සෙ ඒ අපායේ පොල් ලෙලි තලන මිනිස්සු තමන් දැක්ක බව ප්‍රකාශ කරල තිබුණා. මේ ඔසුපත් නරකයේ එක කොටසක හැටි. තවත් කොටසක් තියෙනවා ඊට වඩා දරුණු විපාක ලැබෙන. එවැනි කොටසක සත්ත්වයන් විඳින දුකත්, ඊට හේතුවත් පිළිබඳව අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් දුටු දර්ශනයක් තමයි දැන් මේ විග්‍රහ කරන්නේ. නම් ගම් ප්‍රකාශ කිරීම නොගැලපෙන නිසා සිද්ධිය විතරයි මෙහිදී විග්‍රහ කරන්නේ.



මේක 1986 වසරේ දී පමණ සිද්ධ වෙච්ච දෙයක්. එක්තරා ගමක වෙළඳාම් කරන කඩ හිමියෙක් (මුදලාලි කෙනෙක් ) හිටියා. ඒ අය පරම්පරාවෙන් පොහොසත් නොවුණත් පසුව යමක් කමක් හරි හම්බකරගත් පිරිසක්. ඒ අතර පරපුරෙන් පිටගම්කාරයන් වන පිරිසකුත් ඒ ගමේ පදිංචියට ආවා. ඒ අය දුප්පත්. එහෙම ඇවිත් නොයෙක් කටයුතු සිද්ධ කරල ඒ අය වෙළඳාමක් ආරම්භ කළා. ඉන්පසු සාමාන්‍ය තත්ත්වයකින්, ජීවන වියදම් නොඅඩුව ලබන්න පුළුවන් විදිහට ප්‍රධාන පාරක් අද්දර සාමාන්‍ය මට්ටමේ ගෙයක් හදා ගත්තා. ඉහත පළමුවෙන් කියපු ගමේ මුදලාලිගේ නිවසට යා යුත්තේ මේ පසුව කියපු පිරිසගේ ගේ අද්දර ප්‍රධාන මාර්ගය පසුකරගෙනයි. මේ මුදලාලිගේ දරුවන් වන ලොකු පුතා හා දුව යම් මට්ටමක රැකියාවන් කළත් ගෙදර ආවෙ ගියේ කලාතුරකින්. මේ නිසා ගෙදර හිටියේ පොඩි පුතා හා මුදලාලිත් ඔහුගේ බිරිඳත් පමණයි. පොඩි පුතා කියල කිව්වට වයස 25 ක් විතර ඇති. ඔහු කලාවට දක්ෂයි. හැබැයි මුදලාලිගේ බිරිඳ, පමණට වඩා තමන්ගේ තත්ත්වය ඔලුවට අරගෙන හිටපු කෙනෙක්. පාන්දරම උයා තබා මේ තුන්දෙනාම උදේට කඩේට යනවා. දවල්ට ගෙදර ගිහින් ආහාර රැගෙන එන්න අපහසු නිසා දවල්ටත් එක්ක බත් බැඳගෙන යාම සිරිතක්.

ටික කලක පටන් පොඩි පුතාට හිසේ ආබාධයක් තිබුණා. ඔහු දවල්ට කඩේට ආවත් හිස කකියන බව කියල ගෙදර යනවා. මෙහෙම ටික කලක් ගත වුණත් හිසේ අමාරුව හොඳවෙන බවක් පේන්න තිබුණෙ නෑ. ඔහු බෙහෙත් ගැනීමත් ප්‍රතික්ෂේප කළා. දිනක් ඔහු කඩේ ඉඳිද්දී නිදාගන්න ගෙදර යන බව පවසා ගෙදර ගියා. හිසේ අමාරුවෙන් පෙළෙන තම ළමයා ගැන සංවේගයට පත් මවත් (මුදලාලිගේ බිරිඳ) කල් තබා ගෙදර පැමිණියා. නමුත් පොඩි පුතා ගෙදර ඇවිත් නැති බව වටහාගත් මවට ලොකු සැකයක් ඇතිවුණා. සෝදිසියෙන් අපසු කඩය කරා යන මේ මවට, පුතාගේ හිනා හඬක් පිට ගමින් ඇවිත් පදිංචි වෙලා හිටපු අයගේ ගෙදර දෙසින් ඇහුණා. ගිහින් බැලුවම පුතාට වඩා වයසක තවත් කාන්තාවක් සමග ඔහු සතුටින් ඉන්න බව දකින්න ලැබුණා. මේක දැකපු මවට ඉවසීමත් නිම්හිම් නැතිවුණා. මව ඔවුන්ට හොඳටම බැන වැදී පුතාටත් බැන බැන කඩේට කැඳවාගෙන ගිහින්, පියාටත් කාරණය පවසා මානසික වූ මහා වේදනාවෙන් අඳෝනා නගන්න වුණා.

"අපේ පවුල විනාසයි! මූ

මගේ මූණේ දැලි ගෑවා! දැන් මට ඉඳල වැඩක් නෑ" මේ විදියට මහා මානසික වේදනාවෙන් විලාප නගන මව, ඉහත කී ගේ ලඟින් යනකොට තූ: කියල කෙල ගහන්නත්, අපහාස කරන්නත්, පොඩි ගල් කැට අරගෙන හෙණ ගහපන් කියල ඒ ගෙදරට වීසි කරන්නත් පටන් ගත්තා. මෙහෙම කරල ගිහින් වැතිරගෙන හුල්ලමින් නිදා ගන්නවා. මේ විදිහට ටික දවසක් යන කොට ඒ මවට ආහාර ගන්නත් බැරි වෙලා බලා සිටිද්දීම කය දුර්වල වුණා. ඒ හේතුවෙන්ම මරණාසන්න වුණා. අවසානයේ "කෝ පොඩි කොල්ලා, අනේ ගොනා ගොනා" යැයි කියමින් ඔහු දෙස බලාගෙනම පණ ගිය බව දැනගන්න ලැබුණා.

මේ වගේ අදහස් ඇති කෙනෙකුගේ මරණින් මතු අත් බැවක් කෙසේ වේදැයි ගුප්ත අධ්‍යාත්මික ක්‍රමයකින් බැලුවම, ඒ මව කට උඩට සිටින සේ ප්‍රේතියක් වෙලා ඉහත කී පිටගමින් ඇවිත් පදිංචි වෙච්ච අයගේ ගෙදර කසල ගොඩක ඉපදිලා ඉන්න හැටිත්, ඒ ගෙදර අය පිටිපස්ස දොරෙන් කෙල ගහන කොට කෙල පිඩක් මැවී ඇවිත් ඒ ප්‍රේතියගේ කටට වැටෙන හැටිත්, ඒ අය පිළිකන්නේ මුත්‍රා කරන කොට ජල දහරාවක් ලෙස මුත්‍රා මැවී ඇවිත් ඇයගේ කටට වැටෙන හැටිත්, අධික පිපාසය උහුලගන්න බැරි ප්‍රේතිය ඒක අමෘතයක් මෙන් කිසිම අප්‍රියතාවයක් නොබලා ගිලින හැටිත් දැක ගන්න ලැබුණා.

ඒ ප්‍රේතිය මේ විදිහට හිටියේ දින කිහිපයක් පමණයි. ගෙදර හත් දවසේ දානය දීලා බණ කියල පිං දුන්නත්, මොකක්ද වුණේ කියල බලනකොට ඇඟ හිරිවැටෙන දසුනක් තමයි දකින්න ලැබුණේ. ඇයට පිං ලබල සුගතිගත වෙන්න පුළුවන්කමක් තිබුණෙ නෑ. කොහොම හරි අර ගෙදර වහලට ගලක් දෙකක් වීසි කරපු එකේ පාපයකුත් ඊට එකතු වෙලා, ඇය පහල ප්‍රදේශයකට ඇදී ගිහින් මහා ආවාටයක් වගේ තැනකට වැටිල තිබුණා. ඒක මහා භයානක තැනක්. ආවාටයේ ප්‍රමාණය මහා කඳු වලල්ලකින් වට වෙච්ච පහත් භූමි ප්‍රදේශයක් වගේ. **ගෙවල් පමණ ප්‍රමාණයේ විශාල ගල් පර්වත එක කඳු මුදුනකින් පහතට පෙරලිලා, පහත් බිම් ප්‍රදේශයේ සිටින පිරිස් පොඩි පට්ටම් කරගෙන මහා හඬ නගමින් අනිත් කඳු මුදුනට පෙරලී යනවා. ඒ කඳු මුදුනේ තියෙන ගල් පර්වතත් ඒ විදිහටම පෙරලී ගිහින් අනිත් කඳු මුදුනට යනවා. සමහර වෙලාවට කඳු මුදුන් දෙකෙන්ම පෙරලෙන ගල් එකිනෙක වැදී මහා ගිනි පුලිඟු විසිවෙමින් හෙණ පුපුරනවා වගේ හඬ නගමින් ඊට හසුවූ පිරිසත් සුණු විසුණු කරමින් යනවා. නමුත් කර්ම බලය නිසා ශරීරය කොච්චර වැනසුනත් නැවත පෙර පරිදිම හැදෙනවා. ඒ වෙලාවට මහ විලාප නැගුවත් වැඩක් නෑ. බේරගන්න කවුරුවත් නෑ. කාටවත් කිසිම පිළිසරණකුත් නෑ.** මේ අපායත් ඒ විදිහටමයි සැකසෙන්නේ. කැඩෙන බිඳෙන ගල් පර්වතත් නැවත තිබුණ වගේම ප්‍රකෘතිමත් වෙනවා. එහෙම ශරීර කෑලි විසිවෙනකොට ඒ පිරිස නගන මහා අඳෝනා හඬ අහගෙන දරා හිටින්නත් අමාරුයි. ඒක දින ගණනක් හිතේ දෝංකාර දෙනවා. දැන් අර කියපු ප්‍රේතියත් මේ අපායේ තමයි ගිහින් ඉපදුනේ. මේ එක්තරා ඔසුපත් නරකයක්.

දැන් කෙනෙකුට මෙහෙම ප්‍රශ්නයක් ඇතිවෙන්න පුළුවන්. එනම් පළමුව මැරිල ගිහින් ප්‍රේතියක් වෙලා ඉපදිලා, හත් දවසේ දානෙත් දීලා තවත් පහලට ගියේ කොහොමද කියල. ඒ ප්‍රේතිය අනුමෝදන් නොවී, දානය දුන්නු අයටත් සාප කරපු නිසයි එහෙම වුණේ. මොකද පිං අනුමෝදනාව ගන්නත් හේතු තියෙන්න ඕන. ඔසුපත් නරකයේ සමහර තැන්වල නම් පිං අනුමෝදන් වෙන්න පුළුවන්. එදා හිටපු මල්ලිකා බිසවත් හත් දවසක් මේ ඔසුපත් නරකයක ඉඳල හත්වන දවසේ පිං අනුමෝදන් වෙලා එතැනින් බේරිලා ආ බව දහමේ සඳහන් වෙනවා. නමුත් මේ ප්‍රේතිය ගියපු තැන එහෙම තැනක් නෙවෙයි. "මගේ කොල්ලව කාලකන්නියෙක් වුනා මදිවට තොපි දානෙත් කනවද"ආදී වශයෙන් ඒ ප්‍රේතියට හිතෙන්නේ තව තවත් සාප කරන්න. හිත සැනසෙන්නෙ නෑ. සැනසෙන්න මගක් ආවත් කමා කරගන්න හිතෙන්නෙ නෑ. ඉතින් තවත් පහලටමයි යන්නේ. ඒවගේ ගියපු උදවිය එහේ බොහෝ ඉන්නවා. එහෙම ඉන්නෙත් මෙහේ හිටපු මිනිස් ස්වරූපයෙන් මිසක් වෙනස් හෝ තිරිසන් ස්වරූපයකින් නෙවෙයි. මෙහේ මිනිස්සු ඒ හිටිය හැටියටමයි යන්නේ. ඇඳුමත් මෙහේ ඇඳල හිටපු හැටියටම එහේදී කර්ම ශක්තියෙන්ම මැවෙනවා. අතීතයේ ඒ කාලෙ තිබ්ච්ච ඇඳුම් ඇඳගෙන හිටපු අය තාමත් ඒ ඇඳුම් පිටින්ම එහේ ඉන්නවා. සමහර අය සාටක පටලවාගෙන, සමහර අය සරම් ඇඳගෙන, තවත් සමහර අය චීත්ත ඇඳගෙන. මේවගේ විවිධාකාර ඇඳුම්වලින් කෑලි තමයි මේ අය පටලවගෙන ඉන්නේ. අපට ඒ අය සියුම් කිරණවලින් යුත් කයවල් වගේ පෙනුනත්, ඒ ලෝකෙ ඒ දුක් විඳින අයට ඒක දැනෙන්නේ ඝනීභවන වෙච්ච විදිහටයි. එහේ ගලුත් මෙහේ වගේ බරට ඒ අයට දැනෙනවා. බය වේදනාව දැනෙනවා. මේ වගේ මහ දුකක් විඳවන විශාල පිරිසක් එහේ ඉන්නවා.

හැබැයි මේ කියන ඔසුපත් නරකයේ, අට මහා නරකයට වඩා පුංචි හරි සහනයක් තියෙනවා. මොකද කෑ ගහන එකත් එක්තරා සහනයක්. ඒ අත්දැකීම අපි හැමෝටම තියෙනවා. අපිට කවුරුහරි ගහන්න එනකොට, එහෙමත් නැත්නම් විශාල අනතුරක් එනකොට අපි මහා හයියෙන් විලාප තියල කෑ ගහනවා. ඒ කෑ ගහන්නේ යම් කිසි සහනයක් තියෙන නිසයි. බැරි වෙලාවත් එහෙම වෙලාවක කවුරු හරි අපේ කට මිරිකලා, කෑ ගහන්න බැරිවෙන්න හිර කළොත් අපේ අසහනය තවත් වැඩි වෙනවා. හැබැයි මෙහෙම පුංචි සහනයක් ඔසුපත් නරකයේ තිබුණට අවීචි මහා නරකයේ එහෙම සහනයක්වත් නෑ. උදාහරණ විදිහට පිච්චෙනවෝ කියල විපාකය විඳින්න පටන් ගත්තොත් ඒ පිටකරපු හුස්ම, විපාකය ගෙවෙන කල්ම එහෙමයි. පිච්චෙනවෝ කියල නැවතත් හුස්මක් අරගෙන දෙවනි පාරටත් එහෙම කියන්න අවස්ථාවක් නෑ. ඒ කියන්නේ වීතියක් නෑ. අවීතිය කිව්වෙ ඒකයි.

දැන් කෙනෙකුට තවත් ප්‍රශ්ණයක් එන්න පුළුවන්, ඔය දර්ශන පේන්නෙ කොහොමද, කොතැනද ඕව තියෙන්නෙ කියල. ඒක මේ වගේ උදාහරණයකින් පහදන්න පුළුවන්. අපි රූපවාහිනී තිරයකින් මොකක් හරි ක්‍රීඩා තරඟයක් නරඹන කොට ඒ තරඟය පැවැත්වෙන රට, නගරය, ක්‍රීඩාංගනය........ ආදී විස්තර අපිට කලින් කිසිම විදිහකින් දැනගන්න නොලැබුණානම්, තරඟය බලද්දී ඒ ගැන අපිට අදහසක් නෑ. නමුත් එහෙම ක්‍රීඩාංගනයක් තියෙන බවත්, ක්‍රීඩකයන් සෙල්ලම් කරන බවත්, නරඹන පිරිසක් සිටින බවත් ඒ රූපවාහිනී තිරයෙන් අපට පැහැදිලිවම පේනවා. එහෙම නැතිව ඒක මොන පැත්තෙද, උඩද යට ද කියලවත් අපි දන්නෙ නෑ. මෙන්න මේ වගේ තමයි සාමාන්‍ය සමාධියට, දිවැසට මේ වගේ අපායේ සිද්ධීන් දර්ශනය වුණත් ඒවා පිහිටල තියෙන දිශාවන් හෝ ස්ථානයන් ගැන දැනීමක් නෑ. (නමුත් උසස්ම දිවැසකට ඒවත් ගෝචර කරගන්න පුළුවන්) **නමුත් මේ ලෝකයේ සිද්ධවෙන සිදුවීම් රූපවාහිනී තිරයකින් නරඹනවා වගේ අපායේ දර්ශනත් ඉතා හොඳින් පැහැදිලිව පේනවා. පොළව යට පිහිටල තියෙන විශාල ප්‍රදේශ බව දැනගන්න ලැබුණත් මොන පැත්තේ, මොන දිසාවෙද කියල දන්නෙ නෑ. ඒ අය විලාප නගන හඬ, කතා කරන දේවල් ආදියත් සමාධියට ඇහෙනවා. ඒක අමුතු ක්‍රමයක්.**

දැන් අර ඉස්සෙල්ලා කියපු ප්‍රේතියගේ කතාවේ සාරාංශය ගත්තොත් තමන්ට වෙච්ච අවැඩ, තම පවුලට වෙච්ච නින්දාව ගැන කියල කරපු එබඳු අවමානයකටත් විපාක විදියට ගෙවන්න වෙන්නේ මේ තරම් භයානක

*11 වෙනි පිටුවට...*

# විද්‍යාවට හසු නොවූ ලෙඩ රෝගයන්ගේ මූලය දහම් ඇසින්

*(පසුගිය කලාපයෙන් - රටක සිරිත් දුසිරිත් අනුව ඇතිවන සම්පත්තිය හා විපත්තිය)*

මනුෂ්‍යයන් තුළ ඇතිවන්නා වූ මානසික පරිවර්තනයන්ගේ ස්වභාවයන් අනුව භෞතික පරිසරයේ තියෙන සම්පත් හිඟවෙනකොට මනුෂ්‍යයන් රෞද්‍ර වෙනවා. එතකොට අනෙකාගේ දේවල් කඩාවඩා ගන්න නොයෙක් උපක්‍රම යොදනවා. මේ ආදියෙන් මනුෂ්‍යයා දූෂ්‍ය වෙනකොට දූෂිත පරිසරයක් හැදෙනවා. මනුෂ්‍යයා පිට කරන ඒ චිත්ත කිරණ මුල්කරගෙන පරිසරය තුළ ඝනීභවනය වුණාම තමයි මේ ලෝකයේ විස සහිත ආකර්ෂණ කිරණක් හට ගන්නේ. එහෙම හටගත් කිරණ නිසා තමයි භූමිකම්පා, නායයාම්, ජල ගැලීම් වගේ දේවල් ඇති වෙලා වෙනස්කම් සිද්ධ වෙන්නේ. පොළොවේ ආකර්ෂණය යම්කිසි ශක්තියකින් සම්බන්ධ වෙලයි බැඳිල තියෙන්නේ. ඒවා වෙනස් වෙනකොට ඒ ඒ තත්ත්වයන්ට ඒ ඒ ආකාරයෙන් දරා සිටීමට තියෙන ශක්තිය ඉවත් වෙලා කඳු කඩා වැටෙනවා, නාය යනවා, ජල වාෂ්ප ආදිය ක්‍රමානුකූලව ලැබීම නැති වෙලා විකෘති කාලගුණ විපර්යාසයන් ඇති වෙනවා, නොයෙක් විනාශයන් සිද්ධ වෙනවා. මේ වගේ දේවල් සිද්ධ වීම නිසා අට අනූවක් රෝග පැතිරෙන්න හේතු වෙනවා.



නමුත් ඒවාට කොච්චර ප්‍රතිකර්ම කරන්න ගියත් ඒ ප්‍රතිකර්මයන්ට ඔරොත්තු දෙන්නේ මනුෂ්‍යයා විසින් පිට කරපු, දූෂ්‍ය කරපු මට්ටමට විතරයි. **යම්කිසි කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කරන කොට අවවාද අනුශාසනා ආදියකින් හෝ නීතියකින් හෝ දඬුවමකින් හෝ ඒක මැඩ පවත්වා ඔහුට සාමය, සමාදානය උදාකර දෙන ක්‍රමයක් ලෝකයේ තියෙන තාක්, ඒ මට්ටමේ දූෂ්‍යතාවකින් ඇතිවන රෝගයන්ට යම් බේතකින් හේතකින් ප්‍රතිකාර කිරීමේ හැකියාවක් ලෝකයේ පවතිනවා.** එවැනි මට්ටමේ රෝගයන්ට ප්‍රතිචාර දක්වන්න, පවතින ක්‍රමවලින් පුළුවන් වුණත්, **නීතියත් හංගලා යුක්තිය සාධාරණයත් හංගලා සියල්ලෙන්ම අසාධාරණ විදියට වැඩ කරපුවාම, අර අසාධාරණයට ලක්වෙච්ච පුද්ගලයාට මොනම පිළිසරණක්වත් නැතිවෙන තත්ත්වයට මානසිකත්වය දූෂ්‍ය වුණොත් එයින් ඇතිවන රෝගවලට ප්‍රතිකර්ම නැතිව යනවා.** ඊට පස්සෙ මොනවා කළත් සුද්ධ කරන්න බැරි වසංගත, කෘමි රෝග, වෛරස්... ආදී නොයෙක් විෂබීජ හට ගන්නවා.

ක්ෂුද්‍ර ජීවී රෝග හටගන්නේ ක්ෂුද්‍ර විදියට හෙවත් පහත් විදියට ජීවත් වුණාම හටගන්නා දූෂිත මානසිකත්වය තුලින් ගොඩනැගෙන විසෙන්. ඒක තමයි මූලාරම්භය. දැන් බැක්ටීරියා රෝගවලට බෙහෙත් තියෙනවා, වෛරස් රෝගවලට බෙහෙත් නෑ කියල වෛද්‍යවරු කියනවා. බැක්ටීරියා රෝගවලට නම් ප්‍රතිශක්තිය දීල මැඩපවත්වා ගන්න ප්‍රතිකර්ම තියෙනවා. බැක්ටි + ඉරියා තමයි බැක්ටීරියා වුණේ. බැක්ටි කියන්නේ ළාබාල පහත් ගති. කුරුම්බැට්ටි, පොල්බැට්ටි ආදී වශයෙන් කියන්නේ නොමේරූ හෙවත් ළාබාල කියන එකයි. ඇට්ටි කියන එකට වඩා බාල එකක් තමයි බැට්ටි කියන්නේ. බැක්ටි කියන එකම තමයි බැට්ටි කියල ව්‍යවහාරයේ පහසුවට හැඳුනේ. ඉරියා කිව්වේ ඒවායින් කරන ඉරියව් හෙවත් පහත් ඉරියව්. පහත් ඉරියව් ඇසුරු කරන කොට බැක්ටීරියා හැදෙනවා.

එහෙනම් බැක්ටීරියා රෝගවල ආරම්භය තමයි පහත් ඉරියව්. ඒකෙන් හටගත්තා වූ චිත්ත දූෂිත කිරණ විශ්වයට ගමන් කරලා විශ්ව පරිසර වටා පිටාව ඒකෙන්ම පිරුණම බැක්ටීරියාවලට පරිසරය හැදෙනවා. ඒ පරිසරය ඇසුරු කරන කොට තමයි ක්ෂුද්‍ර ජීවී රෝග, දිලීර රෝග ආදී වශයෙන් කියන විද්‍යමාන ඵලය මතුවෙන්නේ. බාලයන්ගේ ක්‍රියා කලාපයන් ඥානවන්තකමට පහරක්. සුන්දර ලෝකයක් මවාගෙන ඒවායේ රඟපාන්න සමහර වයසක උදවියත් සැදී පැහැදී ඉන්නවා. ඉතින් හැට පිරිලත් ඒ අය හරිම ආසයි ක්‍රිකට් ගහන්න, ඒවා බලන්න, උඩ පැන පැන සෝෂා කරන්න ආදියට. මේ තමයි පොඩි එවුන්ගේ වැඩ හෙවත් බැක්ටි ඉරියව්. මේ ජාතියේ මානසිකත්වයට ගුණ නෑ. ගුණයට වඩා අර හදාගත්, මවාගත් ලෝකයේ අවිද්‍යාවෙන් ඉන්න එකයි සිද්ධ වෙන්නේ. ඒක ප්‍රඥාවට හේතුකාරක වන ලෝකයක් නෙවෙයි. එතකොට හටගන්නා වූ ගති ලක්ෂණයෙන් බාහිර ලෝකයේ හටගත්තු එක තමයි බැක්ටීරියාවලට මුල. ඉතින් කොච්චර බෙහෙත් ගහල මර්දනය කරන්න හැදුවත්, මනුෂ්‍යයා ගති ලක්ෂණවලින් ඒ ශක්තිය වර්ධනය කර ගත්තෙ නැතිනම් බැක්ටීරියාවලින් බේරෙන්න බෑ. බැක්ටි ඉරියා හෙවත් ළාබාල පහත් ඉරියව් අත්හරින්න ඕන, වැඩිහිටි අය ළමා වැඩ අත්හරින්න ඕන. නමුත් අද වෙන කොට බොහොමයක් වැඩිහිටි අය තමයි ළමයින්ට වඩා ළමා වැඩ කරන්නේ. සමහර වැඩිහිටි අය තමන්ගේ කතාව, ක්‍රියාව යොදවල තියෙන්නේ ළමා වැඩවලට හෙවත් පහත් වැඩවලට.

දැන් මේ කියන තත්ත්වය ඇති වුණාම, එක එක්කෙනාට වන අයුතු අසාධාරණකම් විසඳගන්න ක්‍රමයක් නැති වුණාම, වැල නොකැඩී වෛර කරන්න පටන් ගන්නවා. ''ඕකට හරියන්න එපා, ඕකට නම් යහතින් ඉන්න හම්බවෙන්න එපා, මම නම් ඕකුන්ට කවදාවත් හැදෙන්න ඉඩ දෙන්නෙ නෑ, ඔළුව උස්සන්න

☞

දෙන්නෙම නෑ'' කී දෙනෙකුගේ නම් මේ වගේ අදහස් අභ්‍යන්තරයේ තියෙනවද කියල හිතල බලන්න. එතකොට පුද්ගලයාගේ හිතේ ප්‍රධානම ආශ්‍රය හා ක්‍රියා කතා වලට මුල වෛරය වෙනවා. වෛරය ආශ්‍රය කරනකොට අභ්‍යන්තරයෙන් නැගෙන්නා වූ චිත්ත කිරණ දූෂ්‍ය නිසා පරිසරයේ විශාල දූෂ්‍යතාවක් ඇති වෙනවා. ඒ ගති ලක්ෂණයෙන් තමයි වෛරස් කියල කොටසක් හැදුණේ. අධික වෛරයට බෙහෙත් නෑ. **හිතක අධික වෛරය හටගත්තොත් ලේසියෙන් හොඳ කරන්න බැරිවා වගේ, වෛරස්වලින් හටගන්නා රෝග වසංගතයක් වෙනවා.** විසඳගන්න බැරිව යනවා. ලාබාල ඉරියව් අයින් කරගන්න පුළුවන් වුනත් වෛරය ලේසියෙන් ඉවත් කරගන්න බෑ. එහෙනම් වෛරයෙන් හැදිච්ච වෛරස් රෝග බෙත්වලින් අයින් කරන්නත් බෑ. බැක්ටීරියාවලට තමයි පොඩි බෙතක් හරි තියෙන්නේ. එහෙනම් වෛරස් හා බැක්ටීරියා රෝග සමාජයෙන් ඉවත් කරගන්න ඕන නම් මිනිස්සු හැමදෙනාටම කරුණාවෙන් මෛත්‍රියෙන් සලකන්න ඕන, වෛර කරන්න හොඳ නෑ. කෙනෙකුගේ යහපතට ඊර්ෂ්‍යා කරන්න හොඳ නෑ, කෙනෙකුගේ දියුණුවක් දැකල ඒවාට හිංගි හිංසා කරන්න හොඳ නෑ. ඒ වගේම පහත් වැඩ, ලාබාල වැඩ, සෙල්ලම් වැඩ, ඉවත් කරගන්න ඕන. ඒවා ගැලපෙන්නෙ නෑ. **යහපත් දේවල්වලට යොදන්න තියෙන වටිනා කාලය නිරපරාදේ අනවශ්‍ය දේවල්වලට යොදවලා කාලය කා දමනවා. අවුරුදු 70ක් 80ක් ජීවත් වෙලා මැරෙන මනුෂ්‍යයා මොකද කරන්නේ, ඒ සුළු කාලය වටිනාම දේකට නොයොදා, කාලය රන් හා සමානයි කිය කියා ඉන්නවා මිසක් ඒකෙන් රත්තරන් වැඩ කරන්නෙ නෑ. වැඩක් නැති හිස් දේවල්වලට කාලය කා දමලා සතර අපාගත වෙනවා.**

වෛරය වැඩිවුණාම එළිපිට කරන්න බැරි දේවල් හැංගිලා හොර වැඩවලින් කරන්න පටන් ගන්නවා. එනම් කාරණය වසන් කරනවා. වසන් කරලා හැංගිච්ච ක්‍රමයකින් කරනවා. **වසන් කරලා ගත කරපු කාරණය නිසා වසංගතය කියන ලක්ෂණයෙන් ප්‍රතිඵල දරනවා.** එහෙනම් වෛරස්වලින් හට ගන්නා රෝග වසංගතයක් වගේ පැතිරිලා යනවයි කියන්නෙ මේ නිසයි. පදය කවුරු කොහොම හැදුවත් පදයේ තියෙන නිරුක්තියෙන් සිද්ධ වෙච්ච සිදුවීම දැනගන්න පුළුවන්. මේ නිසා වෛරය ආශ්‍රය කරන්නෙ නැතිනම්, බාල ඉරියව් නැතිව ඥානවන්තයන් විදියට ගුණයෙන් වැඩිමහල් කරුණු දැනගෙන, කළ යුත්ත නොකළ යුත්ත තේරුම් අරගෙන කටයුතු කරන පිරිසක් ප්‍රධාන වුණා නම් එදාට වෛරස් රෝගත්, බැක්ටීරියා රෝගත් ඉවරයි. වසංගතත් ඉවරයි.

බාල ඉරියව් ක්‍රමත් 2 ක් තියෙනවා. හේතුවට අනුකූලයි ඵලය කිව්වේ ඒකයි. පොඩි එකාට පොඩි විදියට කතා කරනවා. පුංචි සුරංගනා ලෝකයක් පුංචි කාලෙදිම දෙනවා. ඒ ළමයට ගැළපෙන පරිසරයක් හදල දෙනවා. මේ එක්තරා විදියක බාල ඉරියව්වක්. ඒකත් හොඳයි කියනවා නෙවෙයි. හැබැයි ඒකෙන් හට ගන්නා ලෝකයක් තියෙනවා. ඒකෙ බැක්ටීරියා ඒ තරම් අපට විෂ නෑ. ඒකෙන් ශරීරයට අහිතකර නොවන බැක්ටීරියා කොටසකුත් තියෙනවා. නමුත් වැඩිමහල් වියට පත්වෙලා අනෙක් අයත් දෘෂ්ඨ්‍යානුගතියට ඇද දමන බාල වැඩත් හොඳයි කියල නිගමනය කරන කොටසක් ඉන්නවා. ඒවා අගුණයි. ඒ නිසා ඒ අගුණ බැක්ටීරියා ඇවිත් රෝග හදනවා. ඒවාට අනුකූලවයි මේ ලෝකය හැදෙන්නේ.

දියවැඩියාවත් මේ වගේ රෝගයක්. මුල පටන් ගත් උදවිය නිසා, එක්තරා සසර කරපු ගති ලක්ෂණ නිසා මේකට හේතු කාරක ලබනවා. ඒකට මුල පටන් ගන්නේ එක්තරා පිරිසකගෙන්. එතකොට අපරාපරීය වේදනා කර්ම වශයෙන් සසර කරන ලද්දා වූ කර්මයකුත් ඒ පරිසරය සමග ඇදී ඇවිත්, කළ කෙනාටයි, නොකළ කෙනාටයි ඒක භුක්ති විඳින්න සිද්ධ වෙනවා. දියවැඩියාවට අවශ්‍ය කරන පරිසරයක් අවශ්‍ය විදියට ගොඩනැගෙනවා. එහෙම හැදුණට පස්සෙ, ඒ දියවැඩියා රෝගය හට ගැනීමට හේතුවන පරිසරයක් ඇත්ද, ඒ පරිසරය ඇසුරු කරන අයටත් ඒකට ගෝචර වෙන්න සිද්ධ වෙනවා. මේ නිසා අද තරුණ උදවියටත් බොහෝ කොටම ඒ රෝගය තියෙනවා. ලෝකයට සම්බන්ධ, පොළොවට සම්බන්ධ කියන එකයි දිය කිව්වේ (දියත කියන්නේ ලෝකයයි). **වැඩියෙන් ආදායම් ගන්න වැඩියෙන් අසාධාරණකම් කරපුවම, ඒකට උපක්‍රම යෙදුවම ඒ හේතුව නිසා දිය වැඩියෙන් ආපු කාරණය තමයි දියවැඩියාවට මුල් වෙන්නේ. තවත් විදියකින් කියනවනම්, ලෝකය වැඩියෙන් අල්ල ගන්න යෑමේ ප්‍රතිඵලයයි.** පිරිසක් විසින් කරපු ක්‍රියාව නිසා ඒ කර්මයේ විපාකය තමයි පැතිරිලා ගිහින් පොදුවේ බොහෝ අයට එබඳු රෝගයකට ගොදුරු වෙන්න, ගෝචර වෙන්න සිද්ධ වෙන්නේ. රස තණ්හාවකින් කවදා හෝ මේ ලෝකයේ අල්ල ගන්න කරපු දෙයක සාපයක් තිබුණ නම්, දැන් කොච්චර හොඳින් හිටියත් වැඩක් නෑ, අර කරපු අපරාපරීය කර්මය ඇදල එනවා. අවශ්‍ය පරිසරයේ දී ඒක ඵල දෙනකොට හොඳ කෙනාටත් හැදෙනවා, නරක කෙනාටත් හැදෙනවා. මේ නිසා ''අනේ මෙච්චර හොඳට ඉන්න අපිටමයි නේ මේ ලෙඩ'' කියල මෙහෙම අඳෝනා නැගුවට වැඩක් නෑ. හේතු ඵලය දැනගත යුතුයි. **ලේවල ප්‍රතිශක්තිය බාල වුණාම ලේ අඩ වුණා කියල කියනවා. ලේ + අඩ කියන එකයි ලෙඩ කියන්නේ.**

ඊළඟට **සිතින් විශාල විදියට කර කියාගන්න විදියක් නැති අධි පීඩනයක් එන විදියේ කටයුතු එකිනෙකාට කරන පිරිසකුත් ලෝකයේ ඉන්නවා.** ඒවා විඳගෙන හිතේ තද කරගෙන ඉන්නවා. සුපිරි දේවල් ආශ්‍රය කරගෙන තමයි බොහෝ කොටම හිතේ මේ වගේ පරිවර්තන ක්‍රියාත්මක වෙන්නේ. මේ විදියට අධික ලෙස පීඩනය කිරීමේ ගති ලක්ෂණය මුල් කරගෙන ඇතිවන ශක්තිය විශ්වයට පිට වෙලා ගිහින් අපේ ශරීරයේ වා, පිත්, සෙම් සමබරතාව පවත්වා ගෙන යන්න බාධා කරනවා. ඒකට ගැළපෙන පරිසරයක් තුළ ජීවත් වෙන අයට අධික රුධිර පීඩනයට හේතුවන දෙයක් රෝගය වශයෙන් එනවා. ඒකට හේතුවත් මනුෂ්‍යයාගේ නිදහස් චින්තනයක් නැතිකමයි. එතකොට රුධිරය තද කිරීමට, හිර කිරීමට හේතුවන පරිසරයක් ගොඩනැගිලා ශරීරයට අගුණ අධි රුධිර පීඩනයට හේතු වෙනවා. ඒත් එක්කම එන **හදවත් රෝග ගත්තොත් හිත තුළ හැමවිටම කැකෑරෙන ගති ලක්ෂණ තමයි ඒකට මුල් වෙන්නේ.** ''අනේ මට කරපු දේ ! මගේ අයට කරපු දේ ! කරපු අපරාධයක තරම ! ඕකුන්ට නම් හොඳක් වෙන්න එපා'' මෙහෙම පැසව පැසවා ඉන්න ගති ලක්ෂණවලින් යම් කෙනෙක් කටයුතු කළා නම්, ඒ පුද්ගලයා විනාශයක් ලෝකෙට කළා වෙනවා. ඊට අනුකූල වූ ගෙදර පරිසරය නිසා අනුකූල වූ විපාක පරිසරයක් හැදෙනවා. ඒ පරිසරය තුළ ජීවත් වෙන අයට ආහාර පචා පරිවර්තනය වෙලා, එබඳු දේට ආධාරවෙන විදියට සකස් වෙනවා. සසර කරන ලද අපරාපරීය වේදනා කර්මයක් ඇදී ඇවිත් අර පරිසරයත් සමග සම්බන්ධ වෙලා අනන්තර - සමනන්තර ප්‍රත්‍යයට අනුකූල ක්‍රමයක් යෙදිල, හදවත් රෝගවලට හේතු වෙනවා. රෞද්‍ර බව අග්‍ර කළාම රෝ + අග්ග - රෝග වෙනවා.

''පිළි'' කියන්නේ ලජ්ජා ස්ථාන වහගන්න ඇඳගන්න ඒවා. ලස්සනට, සීත උෂ්ණෙට විතරක් නෙවෙයි, ලජ්ජා තැන් මුවාකර ගැනීම ප්‍රධානයි. ඉස්සර වැද්දොත් කොළ අතු ටිකක් හරි ඇඳගත්තේ ඒක කරගන්න. වැද්දන්ට හරි කමක් නෑ ලැජ්ජාව, භය කියන දේවල් ටිකක් හරි හිතට එනව නම්, ඒ ලජ්ජා ස්ථාන වහගන්න අතු පට්ට හෝ කොළ අතු හෝ මොනව හරි, ටිකෙන් ටික හදාගෙන ☞

ආපු එක තමයි අද මේ පහසුවටත්, ඇඳුමක් විදියට එනකල් පරිවර්තනය කරගෙන තියෙන්නේ. ඒ විදියට වහ ගැනීමට ආධාර වන දේට තමයි ''පිළි'' කිව්වේ. **පහත් දේට, ඊයි කියන දේට ඇලී ඉන්න නිසා පා + ඊ + ඇලි කියන පද එකතුවයි පිළි කියන්නේ.** ක්‍රමයෙන් දියුණු වෙන කොට පට්ටවලින් පිලි හදාගත්ත නිසා ඒවා පට්ට + පිලි හෙවත් පටපිලි වුනා. පටපණු නූල්වලින් හදන්න ගත්තේ ඉතා මෑත යුගයකයි. බුදුන් වහන්සේ අනුමත කළේ පණුවන් තම්බා අසාධාරණයෙන් හදපු ඒවා නෙවෙයි, පට්ටවලින් කරපු පිලි හෙවත් පටපිලියි.

ඉතින් කොහොමහරි සමහරු ඒ වහගත්තු එක විවිධ ක්‍රමවලින් සමාජයට විවෘත කරල පෙන්වන්න හදනවා. නැතිනම් බාගෙට පෙන්වනවා. අද සමාජයේ සමහර උදවිය රෙදි අඳින්නෙත් මේවගේ බාගෙට පේන්න. සමාජයේ අනිත් උදවිය රාගයට ඇදල දමල ආකර්ශනය කරගැනීම තමයි ඒකෙ යටි අරමුණ. මෙහෙම කරල අර කියපු **ලජ්ජාව වහ ගන්න ස්ථාන කා දැමීම තමයි පිළි+කා කිව්වේ.** පිළි කියන ලජ්ජා හය ස්ථාන කා දැමුවම ඒ ගති ලක්ෂණයෙන් රාග හැඟීම් තෙරපෙනවා, රාග ගති ලක්ෂණ මතුවෙනවා. ඉන් ඇතිවන දූෂිතතාව නිසා පිළිකා හැදීමට හේතුවන පරිසරයක් ලෝකයේ හට ගන්නවා. සසර ගමනේ දී එබඳු ලජ්ජා ස්ථාන විවෘත කරල, ලජ්ජා හය කා දමල ලෝකයා රවට්ටපු උදවිය ඕන තරම් ඇති. ඒවා නැත්තෙ නෑ, හැමෝම විවිධ ප්‍රමාණවලින් කරල ඇති. මේ හැම කෙනෙක්ම සසරේ ඇවිදින් අද සුද්ධවන්ත වුණාට හරියන්නෙ නෑ, අනන්ත සසරේ ආවේ ප්‍රධාන වශයෙන් රාගයට මුල් තැන දීගෙනයි. ඊට පස්සෙ ඒ රාගය ඩැහැ ගන්න ද්වේෂයට තැන දීලා මුළාවෙන් වැහිලා ආපු සසර ගමනක් තමයි මේ හැම සත්ත්වයෙක්ම කවදා හෝ ධර්මයක් අහල පිළිසරණක් ලැබෙනකල් අරගෙන එන්නේ. ඉතින් මේ වගේ අනන්ත සසරේ කල්ප ගණන්, අපි පෙර කරපු දූෂිත පාප වැඩත් අපට දැන් සම්බන්ධයි. ගෙවල ඉවර කරපු නැති ඒවා තවත් ඕනෑ තරම් ඇති. ඊට අනුකූල පරිසරයක් ගැළපිලා හැදිල තිබුණ නම්, අනන්තර සමනන්තර ප්‍රත්‍යය සිද්ධ වෙලා අපරාපරීය වේදනීය පාප කර්ම ඇදිල ඇවිත් පිළිකා රෝගයට හේතු වෙනවා.

දැන් බලන්න පිළිකා රෝගය වැඩි හරියක් හට ගන්නේ මොන වගේ තැන්වල ද කියල. **ලජ්ජා හය ස්ථාන විවෘත කරලා, ලෝකයේ තිබෙන්නා වූ රාගයෙන් වෙන්වීමට හේතුවන ගුණධර්ම පිරිහවන්න හේතුවන කටයුතුවලට ශරීරයේ යම් යම් ස්ථාන ගෝචර කර ගත්ත නම්, අදත් පිළිකා වැඩිපුරම හට ගන්නේ පියයුරු, ලිංගාශ්‍රිත ප්‍රදේශ, යටි බඩ මුල් කරගත් ප්‍රදේශ, මුඛය ආශ්‍රිත ප්‍රදේශ ආදී ස්ථානවලයි.** මුඛය කියන්නේ බොහෝ දුරට රාගයට ඇද දැමීමට පදනම ප්‍රකාශ කරන ස්ථානයක්. ඒ නිසයි මුඛය බොහෝ විට පිළිකාවලට මුල් වෙන්නේ. එහෙම නැතිව බුලත්විට කෑම නිසාම නෙවෙයි. ඒකත් මේ විදියට පහදා ගත යුතුයි. අපි කරන අර වගේ බොහෝ දූෂිත ක්‍රියාවන්ට යම්කිසි විපාක සිද්ධියක් එනවා. කායිකව දුර්වල වෙලා එබඳු දේට ගෝචර වෙන විදියට අවශ්‍ය පසුතල සැකසුනාම, බාහිරින් පෙනෙන පුංචි පුංචි දේවලුත් ඒකට ආධාර වෙනවා. ඉතින් ඒ



පුංචි දේ විතරක් අරගෙන බාහිරින් පෙනෙන වෛද්‍ය ඇසින් ඒ අය කියනවා, බුලත් විට කෑවම පිළිකා හැදෙනවා, ප්ලාස්ටික් බටවල තියෙන වතුර බිව්වම පිළිකා හැදෙනවා, ඇස්බැස්ටෝස් යට හිටියම පිළිකා හැදෙනවා කියල. මේ විදියට ඒකට මුල හැටියට බාහිරින් පෙනෙන ඒ පුංචි කොටස විතරක් පෙන්වනවා. නමුත් ඊට හුඟක් එහාටයි පිළිකාවේ මුල තියෙන්නේ.

කවදා හෝ මිනිසුන් සුචරිතයෙන් යුක්තව ලජ්ජා හය ඇතිව ජීවත් වෙන්න පරිසරයක් ගොඩනැගුව නම්, ලෝකයේ තියෙන පිළිකා ඒකෙන්ම අහෝසි වෙන විදියට මග පෑදෙනවා. මොකද සමනන්තරය නැති වුණාම පාප කර්ම තිබුණත් ඇදිල එන්න පරිසරයක් නෑ. මේ නිසා මනුෂ්‍යයා බුදු දහම තේරුම් අරගෙන සුචරිත වුණා නම් ප්‍රයෝග සම්පත්තියෙන් ඒවා නැති කරගන්න පුළුවන්. ඒක එක් කෙනෙක් දෙන්නෙක් කෙරුවට බෑ. පොදුවේ සියල්ලන්ටම ගුණ ධර්ම වැටහෙන්න ඕන. නමුත් එහෙම පරිසරයක් ගොඩනගන එක හරි අමාරු කාරණයක්. ඒක උපක්‍රමශීලීවවත්, බලහත්කාරයෙන් ආක්‍රමණය කරලවත් කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒකට විශේෂ දෙයක් බලපානවා.

අපි හිතමු මහා ලොකු ගහක් තියෙනවා කියල. දැන් අපිට මේ ගහ ගලවලා එක පැත්තකට දාන්න ඕන. අපි ඒකට කුල්ලක් අරගෙන නොයෙක් ආකාරයෙන් පවන් ගහනවා, විදුලිපංකාවක් දාල ඒ පැත්තට හරවනවා. නමුත් මේ ජාතියේ සුළං පහරවල්වලින් ඒ ගහ වට්ටන්න බෑ. හැබැයි මහ සුළි සුළඟක් ආවොත් සමහර විට ගහ ගැලවිලා ඈතටත් විසි කරන්න පුළුවන්. ඒ වගේ මහා පරිමාණයෙන් එන්නා වූ පරිවර්තනයක් වෙනස් කරන්න ඒ වගේම විශාල හේතුවක් යෙදෙන්න ඕන. එහෙම වුණාමයි දූෂිත වෙලා යන සමාජයක් පොදුවේ නැවතත් යහපත් පැත්තට හැරෙන්නේ. එතකල් එක්කෙනෙක්, දෙන්නෙක් බණ කිව්වට හරියන්නෙ නෑ. ඒක බොහොම අමාරුයි. නමුත් සමහර කාලවල දී වගේ මහා විනාශයක් වුණොත් මොකද වෙන්නේ, ''අනේ අපිට මෙහෙම විනාශයක් වුණා! අපි මෙච්චර කල් පොර කෑවේ නිදන්වලට, සම්පත්වලට නේද? දැන් හැම තැනම මිනිස්සු බල්ලො බළල්ලු වගේ මැරිලා! කවුද අයිතිකාරයෝ? මොනව කර ගන්නද? අපි සල්ලිවලට මෙච්චර දැඟලුවා. මොකක් නිසාද? සල්ලි මේ ලෝකයේ ප්‍රධාන වෙලා තිබ්බ්ච නිසා. දැන් කාට සල්ලි දීල මොනව ගන්නද? සල්ලි තිබුණ කියල මොනව කරන්නද? මේ අපි තණ්හාවට මුළා වෙච්ච කාරණාත් එක්ක මහා ජනගහනයක් හිටපු නිසයි මේ ඔක්කොම ප්‍රශ්න තිබුණේ! දැන් විශාල ප්‍රදේශයක් විනාශ වෙලා, මැරිල ගිහින්නේ ! අනේ කොච්චර ටිකයිද ඉතිරි වෙලා ඉන්නෙ? දැන් ඉතින් අපට ඕන කරන්නේ සමගියෙන් සමාදානයෙන් කරදරයක් නැතිව ජීවත් වෙන්න. ඇසිපිය ගහන සැණෙකින් මහා විනාශයක් නේද වුණේ ! කුළල් කාගෙන වැනසෙන දේවල් කරගෙන ඒකෙ ප්‍රතිඵලය බලපාල නේද මේ විනාශ වුණේ ! අනේ අපිට වෙච්චි දෙයක් ! දැන් ඉතින් ඉතිරි වෙලා ඉන්න ටිකවත් එකතු කරගෙන අනේ සමගියෙන් සමාදානයෙන් ඉඳපල්ලා" කියල මේ විදියට ජාති, කුල මළ හේද ඔක්කොම

පැත්තකට දාලා, හොඳ සිතින් ජීවත්වෙනකොට නැවතත් පරිසරය යහපත් අතට හැරෙනවා. එහෙම විනාශයක් නොවුනත් මේ විදිහට අදහස් ගන්නවනම් යහපත උදාවෙනවා. ඒකෙ වැදගත්කම දැකල හොඳ පැත්තට හැරිල තමයි නැවතත් පරම්පරා ගණනාවක් යනකල් සුචරිත යහපත් පරිසරයක් හැදෙන්නේ.

ඒ වෙලාවෙදි ලොව සත්‍යය යථාර්ථය දැනගත් උතුමන්ලා දේශනා කරන දහම අරගන්න පිරිසක් සමාජයේ ඉන්නවා. ඒකෙන් විශාල පිරිසක් දහමට නැඹුරු වෙනවා. ආධ්‍යාත්මිකව ගුණයට පිහිටනවා. එතකොට ලෝකය නැවතත් සශ්‍රීක වෙනවා. ඉන්පසු අතීතය අමතක වෙනකල්ම සශ්‍රීක වෙනවා. ජනගහනය නැවතත් වැඩිවෙනකොට අර අතීතයේ තිබුනු දූෂ්‍යතාවට හේතුවන විදියට, වඳ කරන්න බැරි විදියට පසුතලයක් හැදෙනවා. ජනගහනය වැඩිවෙලා සම්පත්තිය සීමාවෙලා රැල්ලක් උස් පහත් වුණා වගේ නැවත වතාවක් කලින් වගේම වැටිල විනාශ වෙනවා. රැල්ලක් උස් පහත් වෙනව වගෙයි ලෝකයේ ක්‍රියාවලිය හැදිල තියෙන්නේ මේ විදියටයි. මේක අද ඊයෙ වෙච්ච දෙයක් නෙවෙයි. කාලෙකට මහා වසංගතයක් වෙලා විනාශ වෙලා යනවා. ඉන්පසු ඉතිරි පිරිස නැවත එකතු වෙලා නැවතත් යහපත් විදියට හැදෙනවා. ඒ පරපුරෙන් හොඳ පරපුරක් බිහිවෙනවා. ඒ පරපුරේ ඉන්න ගුණවත් අය ධ්‍යානලාභී වෙලා දිවැස්, දිව කන් පහල කරගෙන, ලෝකයට අවශ්‍ය දේවල් නිෂ්පාදනය කරන ඥානය පහලවෙලා, ලෝකයට අවශ්‍ය යහපත් දේවල් දීලා, මනුෂ්‍යයන් ඒ පැත්තට නැඹුරු කරලා, සශ්‍රීකත්ව ගුණ යහපත් පරිසරයක් නැවත නැගිල එනවා. එහෙම නැගිල ආවම නැවතත් කාටවත් වළක්වන්න බැරි විදියට සම්පත්වලට වහල් වෙලා, නැවතත් දූෂ්‍ය වෙලා විනාශ වෙන තැනට වැඩ කරගන්නවා. මේ නිසා නැවත වැටෙනවා. නැවතත් අර ක්‍රමයටම නැගෙනවා. මේ වගේ මහා පරිමාණයෙන් ඇතිවන්නා වූ පරිවර්තන ක්‍රමයක් අනුවයි ලෝකය ගොඩනැගෙන්නෙත්, වැනසෙන්නෙත්. ඉතින් ඒ වගේ වැනසෙන කාලවල දී වසංගත රෝග එකින් එක හැදි හැදී එනවා. ඒවාට වෛද්‍ය ප්‍රතිකර්මත් නැතුව යනවා. මේවා කියල දුන්නත් කිහිප දෙනයි ඒවායින් බේරිලා යන්න වැඩ කටයුතු කරගන්නේ. **බේරෙන්න පුළුවන් වුණත් එකයි, නැතත් එකයි, මෙහෙම ලෝකයක ඉඳල වැඩක් නෑ කියල, ධර්මය දැක්ක කෙනා මුළු ලෝකයම එපා කියල අතහැර දමන තැනට එනවා.** එදාට ඒ පුද්ගලයා ලෝකෝත්තර බවින්, නිදහස් වෙනවා. අනෙක් අය මොකද කරන්නේ, ඒකට හැපි හැපී දඟල දඟලා ඒකටම තරඟ කරලා ඒකෙම හොඳ ඒව හොය හොයා දඟලනවා.

ඉතින් එදා තිබ්ච්ච බෞද්ධත්වය තුල මේවා ඔක්කොම විස්තර කරල තිබුණා. නමුත් ඒවා තිබ්ච්ච හෙළ අටුවා අද හොයාගන්න බෑ. ඒ නිසා අද වෙනකොට සමාජයට මහා විනාශයක් සිද්ධ වෙලා තියෙනවා. එහෙනම් අපි දැනගන්න ඕන, හොඳ දෙයක් කළොත් හොඳක් සිද්ධ වෙනවා, නරක දෙයක් කළොත් නරකක් සිද්ධ වෙනවා කියන කාරණය. එහෙනම් හොඳ දේද නරක දේද කියල හොයාගන්න එක විතරයි කරන්න ඕන. හොඳ දේ නම් ඒක කරන්න, හොඳක් වෙනවා. නරක දේ නම් නොකරන්න, ඒකෙන් නරකක් වෙනවා. ඕක මොන පොතේද ලියල තිබුනෙ, ත්‍රිපිටකයේ කොතනක හෝ තියෙනවද කියල හොයල වැඩක් නෑ. නමුත් මූලධර්මයක් දීල තියෙනවා හොයාගන්න හැටි. ඒ තුලින් හොඳ දේ, නරක දේ තේරුම් අරන් වැඩ කටයුතු කරගන්න ඕන. ඒක බුදු දහමට එකඟයි. **පොතේ තිබුණත් නැතත් නරක දේ නොකළ යුතුයි.** ඒ නරක දේ ඉවත් කළාම ඒකෙනුත් හොඳක් සිද්ධ වෙනවා. පොතේ තිබුණත් නැතත් වෙන්නෙ ඒකයි. පොතෙන් ඕක හොයා ගන්න බෑ. මේවා අප්‍රමාණයි. ''අප්පමානෝ බුද්ධෝ, අප්පමානෝ ධම්මෝ, අප්පමානෝ සංඝෝ'' මේ බුදු ගුණ, දම් ගුණ, සඟ ගුණ අප්‍රමාණයි. ඉතින් එහෙනම් ඕව පොත්වල ලියල කොහොමද ප්‍රමාණ කරන්නේ ? තම තමන්ගේ නුවණේ මට්ටමට මේ ගුණ දකින්න ඕන. දැකපු එක අනුගමනය කරන්න ඕන. එතකොට යහපත ලැබෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

*7 වෙනි පිටුවෙන්..*

## අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

අපා ගිනිනම්, මිනිස්සු කරන මහා අපරාධවලට කවදා මොන වගේ අපායවල්වල ඉපදිලා අනන්ත දුක් විඳින්න වෙයි ද? මොකද ඒ මවගේ කතාව පිටින් බැලුවම අද කාලයේ කෙනෙකුට ඒක බොහොම සුළු දෙයක් කියල හිතෙන්න පුළුවන්. ඒ පොඩි දේකට එහෙම තැනක, එහෙම දුකක් විඳින්න සිද්ධ වෙනව කියල කවුරුවත් හිතන්නෙ නෑ. නමුත් පාපය කියන එක අපිට එහෙම පිටින් බලල නිගමනය කරන්න බෑ. ක්‍රියාවක් විදිහට ඒක බාහිර සමාජයට එතරම් ප්‍රබලව නොපෙනුනාට, එතනදී ඇතිවෙන දූෂ්‍ය මානසිකත්වය කොච්චරනම් ප්‍රබලද කියල අපට කියන්න බෑ. ඒක සැඟවෙච්ච කාරණයක්. ඉතින් මේ වගේ මානසිකත්වය දූෂ්‍ය කරගෙන අන්තිමේදී ඒකෙන්ම දන්නෙම නැතිව මරණයට පත්වෙන අය කොච්චරනම් අද රටේ ලෝකයේ ඉන්නවද?. අද ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍යවලින් බොහෝ කොටම මේ වගේ දේවල් අහන්න ලැබෙනවා. එක පැත්තකින් විතරක් නෙවෙයි, සමාජයේ හැම පැත්තකින්ම උස් මිටිකම්, ධනය, බලය..... ආදී භේදයකින් තොරව මේ වගේ සිද්ධි අනන්තවත් අහන්න ලැබෙනවා. **මැරෙන බහුතරය සතර අපාගත වෙනවයි කියල ලොවුතුරා බුදුන් වහන්සේ පෙන්වා දුන් කාරණය මේ වගේ සිදුවීම්වලින් ඔප්පු වෙනවා.**

අංශුමාත්‍රයක හෝ කර්ම ඵල ගැන විශ්වාසයක් යමෙකුට තියේනම්, පාපයට භය වීම නිසා මනුස්සයන්ට සිදුවන යහපත ගැන හිතල තමයි මේ වගේ අපාගත වන සිද්ධීන් මේ විදිහට ඉදිරිපත් කරන්නේ. මේ වගේ සිද්ධිවලින්, අපි සරලයි කියල හිතාගෙන ඉන්න හුඟක් දේවල් ගැන මීට වඩා ගැඹුරින් හිතන්න වෙනවා. අනේ මෙලොව සුළු දේකට කරගත් සුළු අපරාධයකට ලැබෙන පරලොව දඬුවම කොච්චර බලවත්ද?. කවදානම් විඳල කෙලවර කරන්නද?. අවිද්‍යාවක මහත! මේ තතු මනුෂ්‍යාට පේනවනම් තවදුරටත් සසර ගමන හොඳයි කියල පතයිද?. බුදු පියාණන් වහන්සේ විසින් දැක මහා කරුණාවෙන් ලෝක සත්වයාට පෙන්වා දුන්, මේ අපායේ තතු සියල්ලන්ටම පෙනී වැටහී, ලෝකාසාවන් දුරු කර නිවනින්ම සැනසෙන්න මේ වගේ කරුණු කාරණා උපකාරී වෙනවා. දෙව් බඹ අත්බැව් ගැන කොච්චර කරුණු කාරණා කියන්න තිබුණත්, මේ දුගතිවල ඉපදීම ස්වභාවය කොට ඇති සත්ත්වයන්ට ඒවායේ ඉපදීමෙන් ලැබෙන ප්‍රයෝජනය මොකක්ද?

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 15**

# ගුප්ත ලෝකයේ දුටු අමුතු සත්ත්වයින්!



*(පසුගිය කලාපයෙන් - ගිහි කාලයේ අත්දුටු ගුප්ත ලොව වැදගත් සිදුවීම් කිහිපයක්....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

මා ගිජිඳාගම කටයුතු කරන කාලයේ සිද්ධ වූ තවත් රසවත් සිද්ධියක් තමයි මේ. බ්‍රහස්පතින්දා සහ ඉරිදා දිනවල විශේෂ ආශිර්වාද පූජාවක් තබා, පැමිණෙන පිරිසගේ ගෙවල් දොරවල් පිළිබඳ විවිධ දෝෂ, විවිධ අමනුෂ්‍ය දෝෂ නිසා සිදුවන බාධක ආදී ගැටලු විසඳා සෙත සලසන ගුප්ත ක්‍රමවේද එකල මා විසින් සිද්ධ කරනු ලැබුවා. සතියකට කටයුතු කරන මේ දින දෙකේදී එබඳු විශේෂ බැලීම්වලට කියන්නේ සමාධි බැලීම් කියලයි. දිනකට පස් දෙනෙකුට පමණක් ඒ කටයුතු සිද්ධ කළේ කලක පටන් දිනපොතේ සටහන් කරන අනුපිළිවෙලකටයි.

මේ විදිහට දින යොදා ගත් එක් මහත්මයෙක් දිනක් යමක් දැන ගන්න මෙසේ පැමිණියා. මා හිටපු තැන පැත්තකින් ඉඳගත් ඔහු ළඟ තවත් ගුප්ත ලෝකයේ දෙන්නෙක් ඉඳගෙන "අපි මුං ඇට හොදියි බතුයි කෑවා" කියා ගුප්ත හඬින් පැවසුවා. ඔබ සමග පැමිණි ගුප්ත ලෝකයේ දෙන්නෙක් මුං ඇට හොදියි බතුයි කැවයි කියනවා. මම ඔහුට මෙසේ ඒ බව පැවසුවා. එහෙනම් මහත්තයෝ, මට වෙන අහන්න දෙයක් නෑ, පළමුවෙන්ම මම වෙච්ච දේ කියන්නම් කියල ඔහු මේ කරුණු පැවසුවා.

"මම දිනක් නිදාගෙන ඉන්න කොට දෙන්නෙක් හීනෙන් ඇවිත්, අපිට මුං ඇට හොදියි බතුයි දියං කියල කිව්වා. හීනයක් නිසා මම ඒක ගණන් නොගෙන හිටියත් දෙවැනි දවසෙත් ඒ විදිහටම ඉල්ලුවා. මේක හීනයක් විතරක් නෙවෙයි, ඉන් වැඩි යමක් ඇතැයි හිතපු මම, හාල් සේරු දෙකක බත් උයාගෙන, මුං ඇට සේරුවක් හොදි හදල, ලොකු මැටි කෝප්පවලට බෙදාගෙන වහගෙන ගිහින් දෙල් ගහක් ළඟ පහනකුත් තියල, මගෙන් මුං ඇට හොදියි බතුයි ඉල්ලපු දෙන්නට මෙන්න ගනිල්ලා කියල ඒ ස්ථානයේ තියල ඈතට ගිහින්, මොකක්ද වෙන්නෙ කියල බලා ගෙන හිටියා. පැය බාගයකට ආසන්න කාලයක් එහෙම හිටියත් කවුරුවත් ආවෙ නෑ. වසා තිබූ දේවලුත් එහෙම්ම තිබුණා. සිදුවී ඇති යමක් ඇද්දැයි බලන්න මම ගිහින් බත් මැටි කෝප්පය ඇරල බැලුවම සිද්ධ වෙලා තිබුණේ හරි පුදුම දෙයක් ! පිහියකින් කපා හරි අඩක් වෙන් කළා වගෙයි, බත්වලින් කොටසක් ගෙන ගිහින් තිබුණා. ඒත් සමගම මුං ඇට හොදි මැටි කෝප්පය ඇරල බැලුවම එක මුං ඇටයක්වත් තිබුණෙ නෑ."

දැන් ඔහුට පුදුම හිතෙන කාරණා දෙකක් සිද්ධ වෙලා. එකක් මුං ඇට සහ බත් භෞතිකවම ගෙන යාම. අනික මා ඉදිරියේ, කිසිවෙකුටත් නොපෙනෙන ඒ දෙන්නා මේ කතාව මා සමග පැවසීම. ඒ මහත්තයත් සතුටු සිතින්, ඒ අයට ඇතිද කියල මට අහන්න කිව්ව විගසම, අමනුස්සයන් දෙන්නා කිව්වේ එහෙම කාලා මදි කියලයි. කොහොමද ඕන කියල ඇහුවම, ඔබතුමාම දැකල හොයල පිළියමක් කරන්නැයි ගුප්ත ලෝකයේ දෙන්නා පැවසුවා. ලඟම එන පෝය දවසට සිල් ඇත්තන්ට බත් සහ මුං ඇට හොදි දන් දී, තවත් අවශ්‍ය දේවල් අමතරව ලබා දී ඒ දෙන්නට පින් අනුමෝදන් කරන්නැයි සමාධි ක්‍රමයෙන් ආපු අදහස මම ඔහුට කිව්වම, ඔහු ඒ විදිහටම දානය දීලා පින් දුන්නා. පසුව යළිත් විමසා බැලුවම ඒ දෙන්නා කිව්වේ, දැන් අසීමිතව ලැබෙන බවත්, කොච්චර දුන්නත්, තවත් අයට දුන්නත් අඩු නොවන බවත්ය. මෙහෙම කියපු ගුප්ත ලෝකයේ දෙන්නා ප්‍රශංසා කරල යන්න ගියා. සමහර අයට මේ කතා මොනවදැයි කියල හිතා ගන්න බැරි වුණත්, මේවා අපට නොපෙනෙන ලෝකයේ සිදු වෙච්ච සම්පූර්ණ සත්‍ය සිදුවීම්.

මේ තවත් එවැනිම පුදුම සිද්ධියක්. මට මතක හැටියට මේක 1994/95 වගේ කාලයක සිද්ධ වෙච්ච දෙයක්. ඒ කාලයේ මම ගුප්ත කටයුතු සිද්ධ කළේ නිට්ටඹුව ප්‍රදේශයේ කලගෙඩිහේන කියන ගම් පියසේ. එකල මා හමුවෙන්න කිතුණු බැතිමතෙක් පැමිණියා. ඒ ඔහුගේ අවශ්‍යතාවයක් ඉටු කරගන්න ආශිර්වාදයක් ලබා ගන්නයි. ආශිර්වාදයෙන් පසු එය මනා සේ ඉටුවුණ බව පවසා, පසු දිනක නැවතත් මා හමුවෙන්න ඇවිත් ප්‍රශංසාවක් කළ ඔහු කියා සිටියේ, මුල් කාලයේ මහත්මයා හමුවුනා නම් මගේ ගේත් බේර ගන්න තිබුණා, ඒත් දැන් පහුවුණා වැඩියි කියලයි. සිද්ධිය ගැන විමසා බැලීමේ දී ඔහුට අයත් පර්චස් පහක පමණ ඉඩමක් සහිත ගෙයක් කුලියට ගත් පිරිසක්, එය උසාවි තීන්දුවකින් හිමිකර ගත් බවත්, නඩුව අහල අවසන් බවත්, දැන් තියෙන්නේ ඔවුන්ට යළි තීන්දුව ක්‍රියාත්මක කිරීම පමණක් බවත් ඔහු කියා සිටියා.

ඒකට කමක් නෑ, නඩු තීන්දුව කොහොම වුනත් මහත්මයගෙ ගේ සහ ඉඩම බව ඇත්ත නම්, අසාධාරණයක් නොවී සහනයක් සැලසේවා කියල, බුද්ධ මන්දිරය පෙන්වා "අන්න අතන පඬුරක් ගැට ගසන්නැ"යි මම ඔහුට පැවසුවා. ඔහුත් බොහොම විශ්වාසයෙන් පඬුරක් ගැට ගසා ගිහින් සතියකින් පමණ බොහෝ සතුටින් මා හමුවෙන්න නැවතත් පැමිණියා. ඔහු රුපියල් 2000/- ක් සමග බුලත් අතක් තබා මට වැඳ සිටියා. මහත්තයා මගේ අයිතිය සාර්ථකව විසඳුනා, ඒක මහ පුදුම කතාවක් යැයි ඔහු මෙසේ පවසා සිටියා.

"එක් දිනක් උදේම ඒ ගෙදර දෙතුන් දෙනෙක් මා හමුවෙන්න ආවා. මහත්තයා මේ ගේ අපට අයිති වුනාට කමක් නෑ, මේ ගේ සහ ඉඩම මහත්තයගෙනේ ! අසාධාරණයක් කරන්න හොඳ නෑ. මහත්තයා මේක සල්ලිවලට විකුණනව නම් කීයකට දෙනවදැයි කියල

☞

මගෙන් ඇහුවා. මේකෙ වටිනාකම රු.250,000/- ක් විතර වෙන බව මම ඔවුන්ට කිව්වා. එහෙනම් මහත්තයා අදම ඔප්පුව ලියමුයි ඒ අය කිව්වම, මමත් පුදුමයට පත්වෙලා යන්න හිටපු ගමනත් නවතා දමා ඒ වැඩේ කර ගත්තා. පසුව මෙබඳු දෙයක් වෙන්න හේතුව විමසා බැලීමේදී සිද්ධ වෙලා තිබුණේ පුදුම දෙයක්. ඊට දිනකට පෙර, මගෙන් කුලියට ගත් ගේ වසා තියෙද්දී රාත්‍රී 12 ට පමණ කුස්සියේ වලං අදින සද්දයක් ඇවිත් තියෙනවා. එක පාරටම කුස්සියට යන්න බිය වෙච්ච ඒ ගෙදර පිරිස, යතුරු හිලකින් කුස්සිය ඇතුල බැලුවලු. සුදු ඇඳ ගත්තු කෙනෙක් වලං අදින හඬත් සමග ඒ අය දැක්කලු. උදේ කුස්සියට ගිහින් බලන කොට සියලුම හැලි වලංවල කට මට්ටමට එනකල් වතුර පුරවල තිබුණලු. දුම්මැස්සේ තිබිච්ච වලනුත් බිම දමා වතුර පුරවල තිබුණලු. ඒත් ආගිය කෙනෙක්ගෙ විදියක් පේන්නවත් තිබිල නෑ. දොර යතුරුත් දමපු විදියටම තිබුණලු. පසුව මේ අය ගුප්ත ක්‍රම මගින් සාස්තර කියන තැනකට ගිහින් මේ ගැන ඇහුවම, ගෙවල් ඉඩම් අසාධාරණයෙන් ගන්න හදන උඹලට එහෙම කළොත් ඉන්න හම්බ වෙන්නෙ නෑ, සාධාරණව ගනිල්ලා කියල කිව්වලු".



මහත්මයා සෘද්ධි බලයෙන් ගිහින් කරපු දෙයක් කියලයි මට හිතෙන්නේ කියල, ඒ කිතුණු මහත්මයා මේ කතාව අවසානයේ මට පැවසුවා. බොරුවෙන් උද්දාම වෙන්න කිසිම උවමනාවක් මට නොතිබිච්ච නිසා, මා එබඳු දෙයක් කළා තබා, ඔය කතාව දන්නේත් ඔබතුමා කියපු නිසයි කියල මම ඔහුට කිව්වා. එබන්දක් කළේ කව්ද කියල මම මේ දක්වාම හොයල බලලත් නෑ.

දැන් මේ කියන්න යන්නේ ගන්ධබ්බයෙක් බඩට යන හැටි දැකපු තවත් අපූරු සිද්ධියක්.මේකත් සිද්ධ වුනේ මා කලගෙඩිහේන ප්‍රදේශයේ ස්ථානයක මේ ශාන්ති කටයුතු සිද්ධ කරන කාලයේ. මේ ස්ථානය බොහෝ අමනුෂ්‍ය බලපෑම්වලට ලක්වුණ පරම්පරාගත ඉඩමක්. ගොවිකාරක සභා මගින් ග්‍රාමීය ගොවිපලවල් පවත්වා ගෙන ගිය කාලයක් තමයි මේ. ඒ සඳහා ගවයින් ඇති කරන මඩුවකුත් එහි සකස්කර තිබුණත්, ඒ කටයුතු ඉන් එහාට සිද්ධ නොකෙරුන නිසා, ඒ ශාලාව සිල් සමාදන් වන පිරිසකට ධර්ම ශාලාවක් ලෙසත්, මාගේ අනිකුත් ශාන්ති කටයුතු සඳහා සාමාන්‍ය නිවසකුත් එහි ඉදිකර ඒ කටයුතු ආරම්භ කෙරුණා. එහි බෞද්ධ පිලිවෙතක් ලෙස දිනපතා හැන්දෑවෙ 7.00 ට පමණ පිරිත් සජ්ඣායනා කිරීමත් සිරිතක්ව පැවතුනා.

මේ කටයුතු පටන් ගත් මුල් කාලයේ, ගුප්ත ලෝකයේ අවුරුදු පනහ, හැට, හැත්තෑව පමණ වයස්ගත මිනිස් ගන්ධබ්බයින් 12 දෙනෙක් පමණ එහි නිතර ගැවසෙන බව මට පෙනුණා. පිරිත් කියන කොට ඔවුන් බණ මඩුවේ කොන්වල සිට අගුපිලට පය දමා ඉඳගන්නවා. පිරිත් කියල ඉවර වෙන කොටම යන්න යනවා. මේ ඉඩමේ ඒ කාලයේ මුල් අයිතිකරු වුනේ විශ්‍රාම ගිය මහලු මුල් ගුරුවරයෙක්. ඔහු අවිවාහකයෙක් වූ නිසා තම ඥාති දරුවෙකුට හිමිකම පවරා දී තිබුණා. ඔහු උදේට හැරමිටි ගසමින් වත්ත මැදින් ඉඩමේ කෙලවරට ගිහින් නැවතත් ආපසු එන සිරිතක් වුණා. ඒ ව්‍යායාම සඳහා වෙන්න ඇති. එහෙම යන එන කොටත් අපි ඔහුට ගරු කළා. මහත්තයා එන්න තේ බොන්න..... ආදී ලෙස කතා කර මොනවා හෝ විශේෂ යමක් ඇත්නම් කන්න දී තේ වත්කර දුන්නා. ඔහු අපට ඉතා හිතවත් වුනා.

මේ ඉඩමේ මෙබඳු ගුප්ත ලොව පිරිසකගේ බලපෑමක් ඇති බව අපි ඒ මහත්මයාට කිව්වම, "ඔය මහත්තයලා මෙහෙ එන්න තිබුණේ මීට මාස අට දහයකට කලින්, එහෙනම් හොඳ වැඩ බලාගන්න තිබුණා" යැයි ඔහු අපට පැවසුවා. මේ විශ්‍රාම ගිය මුල් ගුරුතුමාගේ එක කුස උපන් සහෝදරියක් වූ අක්ක කෙනෙකුත් හිටියා. ඇයත් අවිවාහක ගුරුවරියක්. මේ වයසක අක්කයි මල්ලියි මේ ඉඩමේ කාමරයක් , කුස්සියක් සහිත පොඩි ගෙයක් හදා ගෙන ඒ කාලයේ මෙහි පදිංචි වෙලා ඉඳල තිබුණා. මේ කියපු විදිහේ වයසක ගන්ධබ්බ පිරිසත් ඒ ගෙදරට ඇවිත්, මස් ලේ කය ඇති සැබෑ පිරිසක් ලෙසට පෙනෙමින් රාත්‍රියේ පැමිණෙන බවත්, සමහරදාට හවසට ඇවිත් කුස්සියේ ආහාර උයාගෙන තැනින් තැන ඉඳගෙන කෑම කා ගෙට ඇවිත්, පත්තර ඉරු දමාගෙන නිදාගෙන උදේ 5.00 ට පමණ ආගිය අතක් නැතිව යන බවත් එතුමා මා සමග පැවසුවා.

මුලින් එක්කෙනෙක් දෙන්නෙක් මේ විදිහට ඉන්න බව දැක්කත්, කරදරයක් නැති නිසා අක්කා සහ මල්ලී වන මේ දෙන්නා ඒක ගණන් ගත්තෙ නැතිලු. ඒ පිරිසත් කිසිම බයක් සැකක් නැතිව පසු කාලයේ ඇහැටම පේන්න එනවලු. ඒ වගේම ඒ ඒ අය කතා කරන කොට තොල් පොටවල් සෙලවෙනව මිසක් හඬ ඇහෙන්නෙ නැතිලු. එක් දිනක් කුස්සියේ කෑම උයාගෙන ආහාරගෙන ඒ පිරිස නිදාගන්න ගෙනාපු පත්තර ඉරු එක්කෙනෙකුට (ගුප්ත ලෝකයේ ස්ත්‍රියකට) මදි වුණාලු. ඒ වෙලාවේ අක්කා මල්ලිගෙන්, මම පත්තරයක් දෙන්නදැයි අසා "හා" කිව්වම මේ ලෝකයේ තියෙන පත්තරයක් ඇයට දුන්නලු. ඇය ඒක එලාගෙන නිදා ගත්තලු.

ඊළඟ දවසේ ඒ කාන්තාව තනියම වේලාසනින් ඇවිත්, අක්කෙ මම ඔයාලට සව්දොදොල් ගෙනාව කියල කතා කරල, කෝලිකුට්ටු ඇවරියක් හා වැලිතලප ගෙනත් දීල ගියාලු. තමන්ගේ ඥාතීනුත් සමහර වෙලාවට මේ විදිහට යම් යම් දේවල් ගෙනත් දීල යන නිසා අක්කා හිතුවේ ඒ ඥාති කවුරු හරි කියලලු. එදින රාත්‍රියේත් ඒ පිරිස ඇවිත් උයන්න පටන් ගත්තලු. එසේ එන බව දන්න මේ අක්කයි මල්ලියි දෙන්නා හවස උයාගෙන බෝතලයකට තේ කහට හදාගෙන ගේ ඇතුලෙ කල් තබා තියල තියෙනවා. හැබැයි මේ විදිහට කොච්චර ගුප්ත පිරිසක් ඉව්වත් උදේට උයපු කරපු කෑම එක්ක කිසිම වෙනසක් පේන්න තිබිල නෑ. හවස කෑම කාල හිටපු මේ වයසක අක්කයි මල්ලියි රෑ 10 ට විතර, ගෙනත් දීපු වැලිතලප හා කෙසෙල් ගෙඩි කා තේ බොන්න බලන කොට, එකම ප්‍රමාණයටම සීනි තියෙන එකවගේම තවත් බෝතලයක් හමුවෙලා තමන්ගේ බෝතලය හොයාගන්න බැරිව ඒ බව මල්ලිට කිව්වම, කෝකෙන් හරි කමක් නෑ බොමුයි කිව්වලු. මේ නිසා අහඹු ලෙස තෝරාගත් බෝතලයකින් සීනි දමා තේ බිව්වලු.

ඊළඟ දිනයේ අක්කට හා මල්ලිට බඩේ කැක්කුම හැදිලා බඩ විරේක වෙන්න පටන්

අරන් නැදෑයන් විසින් මේ දෙන්නාම රෝහල්ගත කළා. එතැනදී අක්කා මිය ගියා. මල්ලී හෙවත් විශ්‍රාමික මුල් ගුරුතුමා මේ කතාව කියා මීට පෙර දිනක ගුප්ත ලෝකයේ පිරිමි කෙනෙක් කල් තියා ඇවිත් ඇඳගෙන හිටපු කෝට්එක (කබාය) ඇඳ වියලේ එල්ලා කුස්සියට උයන්න ගිය බවත්, ඒ සමගම ගුප්ත ලෝකයේ බල්ලෙකුත් ආ බවත් කියා සිටියා. කෝට්එක අල්ලල බැලුවම මෙලොව තියෙන අතට අසුවන එකක් වගේමලු. ටිකක් ගිනි ගඳකුත් දැනිල බලනකොට සාක්කුවේ බස් ටිකට් පවා තිබුණලු. මේ ලෝකයේ ඉන්න බල්ලෙක් ඒ ගුප්ත ලෝකයේ බල්ලා දැක ගොරවා බුරාගෙන එනකොට, ගුප්ත ලෝකයේ මිනිසා සහ බල්ලා ගේ ඇතුලින් ඇවිත් කෝට් එකත් අරගෙන පැනල ගියාලු. ඒ අය මෙහේ බල්ලන්ට හරි බයයිලු.

අක්කගේ මරණයෙන් පස්සෙ මේ විස්තරය තම ඥාතීන්ට කිව්වම, මේ ගුරුතුමා ඥාති පුතෙක්ගේ ගෙදර නවත්වා අර ගෙදර කඩල දැම්මලු. ඒ පස් ගොඩ අපි යනකොටත් තිබුණා. ඒ ගේ ළඟ හිටවල තිබ්බ කොච්චි ගස් පවා ඒ වෙන කොටත් තිබුණා. මා විසින් සිද්ධ කළ බෞද්ධ පූජා කටයුතු සහ පොහොය දින කෙරෙන සීලමය කටයුතුවලදීත් ඉහත කී ගන්ධබ්බ පිරිස සිහිකර පින් අනුමෝදනාවකුත් විශේෂයෙන් කෙරුණා. ක්‍රමයෙන් ඒ පිරිස අඩුවෙලා තුන් දෙනෙක් ඉතිරි වුණා. මින් එක් කෙනෙක් ඒ ඉඩම් අයිති පිරිසගේ නැදෑයෙක් වන, නිමල් මහත්තයා කියල අපි අමතන කෙනෙක්ගේ බිරිඳගේ කුසට ගියේ මේ ආකාරයටයි.

නිමල් මහතා සහ ඔහුගේ බිරිඳ අපි තියන බුද්ධ පූජා, ආශිර්වාද පූජා ආදියට සම්බන්ධ වෙලා තමන් දෙන්නාට දරු සම්පත් ලබාගන්න ආශිර්වාද ලබා ගත්තා. විවාහ වෙලා අවුරුදු 8 ක් යනකල් දරුවෙක් නැතිව හිටපු ඒ දෙපල පරීක්ෂා කළ වෛද්‍යවරුන්, කිව යුතු අඩුවක් දැකල තිබුණෙ නෑ. මේ අතර එක දවසක් ඉහත කියපු ගන්ධබ්බයින් තුන් දෙනාගෙන් කෙනෙක් මට මෙහෙම කිව්වා. "මහත්තයා මම නිමල් කියන කෙනාගේ ගෙදරට උපදින්න යනවා" ඔහු එහෙම කියල ඉවත් වෙලා ගියා. එදා හවසම නිමල් මහත්තයා රස්සාවට ගිහින් නැවත ගෙදර එනකොට (ඔහු යන්නේ අපි හිටපු වත්ත අයිනේ අඩි පාරකින්) ඔහුට අඬගසා, ළඟදීම දරු උපතක් ලැබෙන බවත්, දැනගන්න ලැබුනොත් මටත් මතක් කරන්න කියලත් කිව්වා. මෙහෙම කියල ගියේ ටික දිනයි. ඔවුන් පූජා දිනවල ආවෙත් නෑ. කතා කළෙත් නෑ. ගියෙත් අහක බලාගෙන. මාස හතක් විතර ගියාට පස්සෙ නිමල් මහත්තයා මාත් එක්ක දවසක් ඉතා හොඳින් කතාකර, එදා කියපු කාරණය එසේම හරි ගිය බවත්, දරු උපතක් සිදුවී ඇති බව අනිත් අයට ආරංචි වුනොත් කවුරු හරි ගැබ විනාශ වෙන දෙයක් කරයි කියල බයෙන් ඒ ගැන කාටවත් නොකී බවත් කිව්වා.

මේ අතර ඇඟ මහත කරේ සුරයක් පැළඳගෙන හිටපු අවුරුදු 75 ක් පමණ පෙනුම ඇති තවත් ගන්ධබ්බයෙක් මා වෙත ඇවිත්, (යම් කෙනෙක්ගේ නම කියා) තමා උපදින්න යන බව පැවසුවා. මේ වෙනකොට ඒ පවුලේ පළමු දරුවා ඉපදිලා අවුරුදු 10 ක් පමණ ගතවෙලා තිබුණා. කාරණය එසේම සිද්ධ වුණා. මාසයක් පමණ යනකොට ඒක සත්‍ය වුණා. (දරුවෙක් බඩට ආපු බව දැනගත්තා.) ඒ විදිහට උපන් දරුවත් සෙම් සහිත ඇඟ මහත පිරිමි දරුවෙක්.



මේ වත්තේ හිටපු සියලු දෙනාම ප්‍රදේශයේ ප්‍රධානීන් විදිහට කැපී පෙනුන පරපුරක ඉඩම් හිමිකරුවන් වුණා. අපි හිටපු ඉඩමට, පෙර අයිතිවාසිකම් දරපු කෙනෙක් තවත් ඉතිරිවෙලා හිටියා. මේ මුලින් කියපු දොලොස්දෙනාගෙන් අන්තිමයා. ඒ වගේම ඉඩමේ මේ වෙනකොට අයිතිවාසිකම් දරමින් හිටපු මහත්තයෙකුත් හිටියා. අපටත් ඒ කටයුතු කරගෙන යන්න ඉඩ දුන් ඒ මහතා, යම් සීමාවක් පෙන්වා ඒ සීමාව ශාසනික කටයුතු කරගෙන යන්න වෙන්කර ලියා දෙන බවට සහතිකව පොරොන්දුවක් වුනා. ඒ සීමාවට පෙර අයිතිවාසිකම් කියපු, ගුප්ත ලෝකයේ හිටපු, ඉහත කී ගන්ධබ්බ පිරිසේ 12 වැනියා මේ කතාව අහගෙන ඉඳල, මේ මොහොතේම මාගේ හිමිකමත් බුද්ධ ශාසනයට පවරමියි කියා සාධුකාර දුන්නා. මෙලොව හිටපු හිමිකරු එසේ සහතික වුණත් ඒක අමතක කර දමන ස්වභාවයක් පෙන්වූ නිසා, ගුප්ත ලෝකයේ හිමිකරු, "මම" නම් පූජා කළා මම නැවත මේ මහ පොළවට අඩිය ගහන්නෙ නෑ, මම ජීවිතය නැතිකර ගන්නවා" යැයි කියමින් කැලෙන් වැල් පොටක් ඇදගෙන ඒ වත්තටම ලඟ, ඊටම අයත් වෙනත් වත්තක තිබ්බ වල් දෙල් ගහකට නැගල ගෙල වැලලා ගත්තා. (ඒක මනෝමය වැල් පටක් )

මේ පුදුම දර්ශනය ගුප්ත විදිහට දැකපු මට පෙනී ගියේ, මෙලොව මිනිහෙක් මැරෙන හැටි නෙවෙයි, දියෙන් ගොඩට ගත් මාලුවෙක් යමක එල්ලුවොත් (බිලී කොක්කක එල්ලී උඩට එන මාලුවෙක් දඟලන ලෙස) දඟලන ලෙස, වරුවක් පමණ දඟලන විදිහටයි. ඊට පස්සෙත් ටික ටික වේගය අඩුවෙමින් ගිහින්, නොසෙල්වී ඉඳගෙන නැවතත් ටිකක් වෙලා දඟලමින් නිහඬ වුනා. මේ විදිහට ඒ ගුප්ත ලෝකයේ මිනිසා දින 7 ක් දුක් වින්දා. හත්වැනි දවසේ මුළු ශරීරයම සුළඟේ විසිර යන්නා සේ විසිරී ගිහින්, ගහ මුදුනේ ආකාසයේ රන්වන් විමානයක දෙවියෙක් වෙලා පහළ වුණා. මේවා පුදුම අත්දැකීම්, සම්පූර්ණ සත්තයි.

සත්තුත් මිය ගියාම බොහෝවිට ඒ වෙනකොට හිටපු චිත්ත රූපයෙන්ම ගන්ධබ්බ බවට පත්වෙනවා. සමහර විට රූපයෙන් ටිකක් වෙනස්වත් ගන්ධබ්බ රූපයෙන් ඉන්නවා. දැන් මේ මා පවසන්නේ ඒවගේ දැකපු දෙයක්. මේක සිද්ධ වුණේ 1987 පමණ කාලයේදී. අපේ ගෙදර සුදුවා කියල නම තබපු බළලෙක් හිටියා. ඒ බළලා සමග බැළලියෙකුත් පැටව් කාලයේම ඇති දැඩි කළා. මේ බළල් පැටියා බැළලි පැටියාගේ තනපුඩු උරමින් කිරිබොන විදිහට හැසිරුනා. මොවුන් ලොකු වුණාට පස්සෙත් බළලා මේ පුරුද්ද අත්හැරල තිබුණෙ නෑ. තරුණ වයසට පත්වෙච්ච බළලා එක පාරටම ආගිය අතක් නැතිව ගියා. ඒ කාලයේ අපේ පුතාට වයස අවුරුදු 7 ක් පමණ ඇති. ඔහු, තාත්තේ මගේ සුදුවට මොකද වුණේ බලන්නැයි කියමින් නිතර ඇවිටිලි කළා. මමත් වෙලාවක මේ බළලාට මොකක් වුණාද කියල ගුප්ත ක්‍රමයකින් විමසා බැලුවා. ඒ ගුප්ත ක්‍රමයෙන් මා දැකපු සිද්ධිය තමයි මේ. අපේ ගෙදර ඉස්සරහ අල්ලපු ඉඩමේ කැලෑ පෙදෙසක් තිබුණා. ඒකෙ අඩි පාරකුත් තිබුණා. ඊට එහා ගෙදරක බළලෙක් කෑගහන සද්දයක් ඇහිලා ඒ දෙසට කන් යොමාගෙන හිටපු බළලා (සුදුවා), පිටු පසින් මාන බලමින් හිටපු නරියෙක් එකපාරටම පැනල ඩැහැගෙන මරල දැම්මා. ඒත් සමගම බළල් ගන්ධබ්බයා පැනල දිව්වේ අර බළල්

හඬ ඇහිච්ච දිහාවට. මේ අතර මැරිච්ච බළල් කය නරියා රැගෙන දිව්වා.

ඉහතින් ඇහිච්ච හඬ බළල් සංවාසයක්. ඒක ළඟ ගෙදරක බැළලියක් සමග සිද්ධ වෙච්ච දෙයක්. සුදුවා කියන බළල් ගන්ධබ්බයාගේ සිරුරේ පාට ටිකක් වෙනස් වෙලා තිබුණා. අත් දෙක, කකුල් දෙක අග හරිය හා වලිගයේ කෙලවර සුදුයි. පිට දුඹුරු පාටයි. හොම්බ කෙලවරත් සුදුයි. ඌ ඔක්කන්ති වුණේ ඉහත කියපු බැළලියගේ බඩට.

මේ විදිහට සිද්ධ වෙලා තිබුණු දේ මම පුතාට කිව්වා. ඌ නරියෙක් අල්ලගෙන මරාගෙන ගිය බවත්, බළලෙක් විදිහට දයාවතී නැන්දලගෙ ගෙදර ඉන්න බැළලියකගේ බඩට උපදින්න ගිය බවත්, ඒ උපදින පැටියාගේ අත් කකුල් අග, නැට්ට සහ හොම්බ අග සුදු පාටටත්, ඇඟ දුඹුරු පාටටත් ඇති පැටියෙක් ලෙස උපදින බවත් කිව්වා. පැයකින් විතර බලනකොට පුතා ගෙදර හිටියෙ නෑ. ඔහු දයාවතී අක්කා කියල අපි පවසන අයගේ ගෙදරට මේ පණිවුඩය දෙන්න ගිහින් තිබුනා. "දයාවතී නැන්දේ අපේ සුදුවා මැරිලා ඔයාලගෙ පූසිගේ බඩේ උපන්නලු. උගේ කකුල් දෙකයි, අත් දෙකයි, නැට්ටෙ අගයි, හොම්බයි සුදුලු. දුඹුරු පාටලු. පැටියා හම්බ වුනාම ඕං ඌ මට ඕනැ. කාටවත් එහෙම දෙන්න එපා." පුතා මේ විදියට කිව්වම ඒ ගෙදර ඔක්කොම අය හිනා වුනාලු. කොහොම හරි බැළලියෙක් ඒ ගෙදර ඉඳල තිබුණා. පස්සෙ පැටව් දෙන්නෙකුත් ඒ බැළලියට ලැබිල තිබුණා. කියපු ලකුණු ඒ විදියටම තිබ්ච්ච පැටියෙක් හා තවත් දුඹුරුපාට පැටියෙක් ඒ අතර වුණා.

මේ කාලයේම අපේ ගෙදර හිටපු සුදුවා කියන බළලා කිරි උරා බීපු බැළලියත් පැටියෙක් බිහි කළ නමුත් ඒ පැටියා දින කිහිපයකින් මිය ගියා. මේ අතර බැළලියත් කිරි එරිලා කෑගහන්න වුණා. පුතා ඒ අතර ගිහින්, දයාවතී නැන්දෙ මගේ බළල් පැටිය මට දෙන්න කියල ඒ බළල් පැටිය ඉල්ලුවා. අනේ පුතේ ඌ තවම හරි පුංචියි හදන්න බෑ කියල දයාවතී නැන්දා කියන කොට, අපේ බැළලිගේ පැටිය මැරිලා. ඒකිගෙ කිරි තියෙනවා. ඒකි පැටිය නැතිව කෑගහනවා. මං ඒකි ළඟ තියල හදාගන්නම් කියල පුතා කිව්වලු. අනේ පුතේ ඌ නම් දෙන්න බෑ අනිකව ඕනනම් අරන් යන්න කියල දුඹුරු පාට පැටියා දුන්නා. ළමයා අඬා අඬා ඇවිත්, මං දයාවතී නැන්ද එක්ක තරහයි, මගේ පැටිය මට දුන්නෙ නෑ කියල අඬමින්, දුඹුරු පාට පැටිය අරගෙන ගෙදර ආවා. ගෙනත් බැළලි ළඟ පැටියා තිව්වම ඌ බයෙන් මර හඬ දෙන්න වුණා. බැළලිය ඒ පැටවා ලෙවකන්න ළඟට යනකොට පැටියා ඌට පිඹිමින් දඟලන හැටි දැක්කම, ඌ බයට මැරෙයි කියල මට හිතුනා. ඒ වෙලාවේ බැළලියත් දරු සෙනෙහසින් කුලප්පු වෙලා වගෙයි හිටියේ. අනේ පුතේ පැටියා බයට මැරෙයි, ඕක ආපසු ගෙනිහින් දෙන්න කියල මම පුතාට කිව්වා. මට බෑ මං දයාවතී නැන්ද එක්ක තරහම තරහයි, මගේ පැටිය දුන්නෙ නෑ කියමින් ඔහු මහ හයියෙන් අඬන්න වුණා.

මම ඒ බළල් පැටියා අරගෙන දයාවතී අක්කලගෙ ගෙදරට ගිහින් සිද්ධ වූ සිද්ධිය කියා ඌ ආපසු භාර දුන්නා. ඒත් එක්කම පෙර කියපු ලකුණු තිබ්ච්ච පැටියා දැක්කම මටත් සංවේගයක් ඇති වුණා. පුතා මේ පැටිය නැතිව හරියට අඬනවයි කියල මම දයාවතී අක්කට කිව්වම, එහෙනම් මල්ලියෙ මොනව කරන්නද අරන් යන්නැයි කියා ඌ මට දුන්නා. මම ඒ පැටියා ගෙනැවිත් ගෙදර හිටපු බැළලියට ළං කළා විතරයි, සසර පුරුද්දක හැටි! ඉක්මනින් ඉව අල්ලා කිසිම බයක් සැකක් නැතිව ඌ බැළලිය ළඟට ගියාම, බැළලිත් පැටියා තුරුල් කරගෙන කිරි දෙමින් ලෙවකන්න වුණා. මේ සිද්ධිය දකින කොට මට ඇතිවුණේ මේ වගේ හැඟීමක්. අනේ සංසාරයක අසාරත්වයේ හැටි! ලෝකයට බැඳෙන සත්වයාට මොනවද ලැබෙන හරය? අල්ලන්න හදන ආසා පොදි මොනතරම් හිස් විදිහට අසාරව ගෙවිල යනවද? අනේ අසාර සංසාරයක හැටි !

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන :

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවැරදි කිරීම් සහ පැහැදිලි කිරීම්.

★ හෙළ බොදු පියුම 13 වන කලාපයේ 9 වන පිටුවේ පළමු ඡේදයේ 6 වන තීරුවේ සඳහන් වූ "දස දහසක් සක්වලවල් වටා සූර්යා කැරකෙනවා" යන්න "දස දහසක් සක්වලවල් සූර්යා වටා කැරකෙනවා" යනුවෙන් නිවැරදි විය යුතුයි.

★ 14 වන කලාපයේ හදවත් රෝග මුල්කරගෙන හටගන්නා විවිධ ආබාධ සඳහා පෙන්වා දුන් ප්‍රතිකර්මයේදී පේර කොළ කිලෝ 1 ක් , නා දළු කිලෝ 1 ක් හා නෙල්ලි ග්‍රෑම් 400 ක් යනුවෙන් සඳහන් කළේ අනුපාතයයි. ඒ ප්‍රමාණයට අඩුවෙන් හෝ වැඩියෙන් වුවද සපයාගත හැකි අතර එවිටද ඉහත අනුපාතය වෙනස් නොවිය යුතුයි. උදා:- පේර කොළ ග්‍රෑම් 500, නා දළු ග්‍රෑම් 500, නෙල්ලි ග්‍රෑම් 200 යි. එවිට යොදන ජලය ප්‍රමාණයද ඊට අනුව වෙනස් කළ යුතුයි.

★ 12 වන කලාපයේ 14 පිටුවේ පළ වූ "දෙව්දත් තෙර ගල් පෙරලා ශ්‍රී පාදයෙන් ලේ ගලපු එකත්" යන්නත්, 13 වන කලාපයේ 17 පිටුවේ පලවූ දෙව්දත් තෙර ගල් පෙරලා ගල් පතුරක් වැදී ශ්‍රී පාදයේ තැල්මක් වුණා මිසක් ලේ පිටකරන්න බැරි වුණා" යන්නත් අතර බැලූ බැල්මට පරස් පරයක් ඇතැයි කෙනෙක් සිතන්න පුළුවන් නිසා එය මෙසේ පහදා ගත යුතුයි. මෙහිදී බුදු කෙනෙකුගේ ශරීරයෙන් පිටතට කිසිම අයුරකින් ලේ ඉවත් කරන්න බැරි බවයි කියන්නේ. නමුත් දෙව්දත් තෙර ගල් පෙරලුවාම සිද්ධ වුණේ ලේ පිටතට කාන්දුවීමක් නෙවෙයි, ලේ තැල්මක් විතරයි. මෙහිදී ලේ සෙලවීම යනුවෙන් අදහස් කරන්නේ ලේ තැල්මයි. ඒ ලේ තැල්ම තමයි ජීවක වෙද මහතා උන්වහන්සේගේ අවසර ඇතිව ඉවත් කළේ. එහෙම ඉවත් කරන්නත් අවසරය අවශ්‍යයි. මේ අනුව දූෂිත සිතකින් බුදු කෙනෙකුගේ ශරීරයේ ලේ ඉවතට ගන්න බැහැ කියන එක ධර්මතාවයක්. අඩු ගණනේ මදුරුවෙකුටවත් විදින්න බෑ.

# රත්නමාලි ගාථා රත්නයේ සැඟවුණු දහම් අරුත

අනාදිමත් කාලයක පටන් බොදුනු ජනතාව අතර ප්‍රචලිත මේ ගාථා රත්නය උදේ හවා අපට විවිධ ගුවන් විදුලි නාලිකා ඔස්සේ අහන්න ලැබුණත්, එහි මතුපිටින් පෙනෙන සාමාන්‍ය අර්ථයක් තමයි ඉන් කියවෙන්නේ. එහි පරමාර්ථ අර්ථයන් ගැබ්වූ සැඟවුණු දහම් අරුත් සමගින්, රත්නමාලි බන්ධන යන්ත්‍ර රාජයා නිවැරදි අක්‍ෂර සහිතව සකස් කර ගන්නා ආකාරය මෙහි දක්වා තියෙනවා. මේ යන්ත්‍රය සියළු ජයග්‍රහණයන්ට හා ආරක්ෂාවන්ට යොදා ගන්න පුළුවන්. සුරයක දමා කරේ පැලඳවීමට මෙය යොදා නොගන්නා අතර ගෙවල් ආරක්ෂාවට පහන තැබීමටත්, ගෙදර බිත්තියේ සුදුසු ගෞරවනීය ස්ථානයක එල්ලා තැබීමටත් භාවිතා කරන්න පුළුවන්. මෙහිදී යන්ත්‍ර තහඩුව රාමු කරන්නේ නම් කිසිවිටෙකත් වීදුරු රාමුවකින් ආවරණය නොකළ යුතු අතර එය විවෘත වන විදිහට රාමු කළ යුතුය. තවද රාමු කිරීමේදී යන්ත්‍රයට ඇණ නොගැසිය යුතුය. යන්ත්‍රය අඳින තහඩුව අඟල් 6 × 6, 9 × 9 ........ ආදී ලෙස ඕනෑම ප්‍රමාණයකින් 1:1 අනුපාතයට කපා ගත යුතුයි.

සං සාර සාරෝස විනීත ණී සං
සං ණීත සාතං සුවිසාර ධී සං
සං ධීරකං සොණ්ණ තනු පලා සං
සං ලාප දේසිං පණ මේ හිසා සං

සං සාහිගං කේවල මෝහ නා සං
සං නාහකං මාර රණේ විසේ සං
සං සේවිතං දාසි මුදාර හා සං
සං හාර ධම්මං පණමේ සදා සං

සං දාසගං නාසිත පාප නා සං
සං නාප ධංසිං හත සෝර පා සං
සං පාර ගාමිං සුවිසාර වා සං
සං වාර සංසං පණමේ රසා සං

සංසාරය නමැති සැඩ පහර හික්මවා, කෙලෙස් නිවා, කෙලෙසුන්ගෙන් නික්මීමෙන්, ශාන්ත වූ, විශාරධ වූ, කෙලෙසුන් දැවූ, කෙලෙස් දැවූ නිසාම ස්වර්ණ පලසක් වැනි නිහතමානී වූ, කෙලෙසුන්ගේ ස්වභාවය පෙන්වා බිඳ හැරීමේ අයුරු දේශනා කළ උතුමාට මේ ප්‍රණාමය (ගෞරව සහගත නමස්කාරය) වේවා.

කෙලෙසුන්ගෙන් වසා ඇති සියලු මෝහ නසාලන, මාර සටනට විශේෂ වූ, කෙලෙස් නැසීමට සන්නාහකයක් හෙවත් ආරක්‍ෂාවක් වූ, කෙලෙස් සේවනයේ දාස බවින් මෙන්ම මුලා සතුටින් මුදවන, කෙලෙස් හාරා (මුලිනුපුටා දමා) දමා කෙලෙස් දාස බවින් මුදන ධර්මයට ප්‍රණාමය වේවා.

කෙලෙස් දාස බවින් සහ මුලා සතුටින් වන පාප නැසූ සෝර පාසයක් වන් (මරුගේ ආහාරයක් වන්) කෙලෙසුන්ගෙන් ඉවත් වූ, කෙලෙසුන්ගේ පරතෙරට ගොස් විසාරද බවට එක්ව වසන, කෙලෙසුන්ගෙන් විමුක්ත, රසාස්වාදයන්ගේ නොබැඳුණු සංඝයාට ප්‍රණාමය වේවා.

සංසාර - කෙලෙස් එකතුව සාර ලෙස ගැනීම, සාරෝස - සංසාරය නම් බලවත් සැඩ පහර, විනීත - හික්මවීම, නීසං - සං හෙවත් කෙලෙස් නිවීම. (නිවන), සංණීත සාතං - කෙලෙස් නැති ශාන්තිය. (නිවන් සුව), සුවිසාර - පිරිසිදු සාරවත් වූ, ධීසං - කෙලෙස් දවාලීම හෙවත් සෝදා හැරීම, සංධීරකං - කෙලෙස් දැවූ උතුම් බව, සොණ්ණ තනු - ස්වර්ණයෙන් තැනූ, පලාසං - කෙලෙස් පලවා හැරිය, සංලාප - කෙලෙස් ඇල්ම, හිසාසං - ආසා කෙලෙස් බිඳ හැරිය, සං සාහිගං - සැඟවුන කෙලෙස්, කේවල - සම්පූර්ණ, නා සං - න+ආසං - කෙලෙස් නැසීම, ආසාව නැසීම, සං නාහකං - කෙලෙස් නොවදින ඍකවරණය, මාර රණේ - මාර සටන, විසේ සං - කෙලෙස් විස, සං සේවිතං - කෙලෙස් සේවනය, දාසි මුදාර - කෙලෙස් සේවනයට දස තත්වයෙන් මිදුනු, හා සං - කෙලෙස් සමග හාවීම, සංහාර - කෙලෙස් හරණය, සදා සං - සද්+ආසං - යහපත් ඇසුර, සංදාසගං - කෙලෙස් දාස බව, නා සිත පාප - (න+ආසිත+පාප) පාප ආශ්‍රය නැති, සං නාප ධං සිං - කෙලෙස් ප්‍රධාන නොකොට (කෙලෙස් ප්‍රධාන කරගෙන හටගත් දේ සිඳු), පා සං - පහත් වූ ආශාව, සං පාර ගාමිං - කෙලෙස් පරදන ගමන, සුවිසාර වාසං - පිරිසිදු සාරධර්ම හා එක්ව විසීම, සංවාර - සංවර වූ - කෙලෙස් වැරූ, රසා සං - රසාස්වාද හල (අත්හැරිය)

මෙසේ ''සං'' කියන වචනයෙන් ''එකතුව, කෙලෙස්...'' ආදි අදහස් හඟවනවා.

ඉහත කී ගාථා අර්ථවලට තරමක් වෙනස් වුනත්, මේ ගාථා අර්ථයන් සඳහා සමහර පිංවතුන් මෙකල භාවිතා කරන කවි අදහස් තුනක් තියෙනවා. ඒ කවිවලිනුත් තෙරුවන් ගුණ නැමදුමක් සිද්ධ වන නිසා යහපත්.

සසර සැඩ පහර නවතා
නිවන් වැද
පැතිර නැණැති දිරිමත්
රන් පතක් ලෙද
නිතර දිලෙන තුම් සදහම්
දෙසන ලද
වැතිර වඳිමි මගෙ සම්බුදු
මහිමි සඳ

සැක තැන් දුරු කරන
එලෙසින් මෝ නසන
යුදදුම් ලෙසින් මර යුදයෙහි
දිවි රකින
ඇසුරින් සතුට දෙන
කෙලෙසුන් ඇතිනසන
නමදිමි බැතින් සිරි සදහම්
මිණි පහන

සඟ සැප දෙන නැසිය යුතු
පව් හැම නසන
බව බැමි සුණු විසුණු කර
නිති ගුණ පුරන
ලත් සැප දමා පර තෙර වෙත
නෙත යොමන
වඳිනෙමි නිතිපතා
පින්සරු මහ සඟන

මේ යන්ත්‍රයේ කව හෙවත් රවුම් 5 යි. මේවා එකට නොගැවෙන ලෙසත්, නොකැපෙන ලෙසත් ඉරි (කව) 2 බැගින් සිටින්න ඇඳිය යුතු අතර නෙලුම් මල් පෙතිත් එකට නොගැවෙන ලෙස ඉරි 2 බැගින් සිටින්න ඇඳගත යුතුයි. ඊතල ගසා ඇති මාර්ගය බලා ගෙන ගාථා අකුරු සටහන් කළ යුතු අතර මැද ඇති "සං" යන්න පළමුව සටහන් කර ඉන්පසු "සං" යන්න නැවතත් ලිවීම සඳහා කොටුවට එනවිට පන්හිඳ ලං කර අකුරු මතුපිට නොතබා නැවත සටහන් කළ ලෙස හිතෙන් කියවිය යුතුයි. (දැනටමත් සටහන් කර ඇති නිසා) දෙවැනි වට රවුමේ නෙලුම් පෙති මතත් එසේම දෙවැනියට ගැනෙන ලෙස සටහන් කර එන විට යලි අතර නොඇඳ, ඇඳපු ලෙස හිතෙන් කියවිය යුතුයි. යන්ත්‍රයේ අකුරු සටහන් කිරීමේදී හල් කිරීම් නොකළ යුතු අතර ඊතල යොදා ඇති ලෙස අනුපිළිවෙලට අකුරු සටහන් කළ යුතුයි. ඊතල පාර යොදා ඇත්තේ අකුරු සටහන් කරන මග සොයාගන්න පහසුවට බැවින් යන්ත්‍රයේ ඊතල නොඇඳිය යුතුයි. යන්ත්‍රයේ බල පිහිටුවීමට අකුරුවල දන්තජ, මූර්ධජ හා සංඥක බව බලපාන නිසා රූ සටහනේ දැක්වෙන ආකාරයටම අකුරු සටහන් කළ යුතු අතර බැඳි අකුරු (ණ්ණ, ද්ධ, ම්ම, ච්ඡා) යොදා ඇති අවස්ථාද ඒ ආකාරයටම සටහන් කළ යුතුය. මෙසේ යන්ත්‍රයේ අකුරු සටහන් කිරීමෙන් පසු ''ශ්‍රී'' අකුරු සටහන් කිරීමද, අවසානයේ බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි ලෙස සටහන් කිරීමද කළ යුතුය. මේ යන්ත්‍රයත් මින් පෙර (12 හා 13 කලාපයන්ගෙන් පෙන්වා දුන් පරිදි) ගාථා ජීවම් කළ ආකාරයටම කර ගන්න පුළුවන්. ජීවමට මේ ගාථා 3 යොදාගත යුතුයි.

සටහන :

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඇසේ සුද රෝගය සඳහා සමාධියෙන් දුටු ප්‍රතිකර්මයක්

බාහිර පරිසරයේ දූෂ්‍යතාවය මුල්කරගෙන ශරීරය අභ්‍යන්තරයේ අපද්‍රව්‍ය නිසා හටගන්නාවූත්, මේවන විට බොහෝ පිරිසක් පීඩා විඳින්නාවූත් ඇසේ සුද මතුවීමේ රෝගය සඳහා වහරක අභයරතනාලංකාර හිමියන් විසින් සමාධියෙන් දුටු අත්දැකීම් සහිත තවත් ප්‍රතිකර්මයක් තමයි මේ හෙළිකරන්නේ.

මේ සඳහා කරුංකා ගෙඩි කිහිපයක් ලෙලි ගසා ගෙන, රස්නයට ඔරොත්තු දෙන පදම් වෙච්ච පරණ කබලක (මිරිස් බදින්න ගන්න ගෙවල්වල තියෙන කබලක් වගේ) ඒ කරුංකා ගෙඩි අඟුරු වෙලා ගිනිගන්නා තෙක් රත් කළ යුතුයි. මෙහිදී එය හැඳිගාන්න අවශ්‍ය නෑ. යටින් ගින්දර දාලා රස්නෙට තිබ්බම දුමාරය ඇවිත් ගිනි ගන්නවා. ඒක කලු පාටට අඟුරු වෙන කොට බාගත යුතුයි. ඉන්පසු නිවෙන්න හැර අඟුරු ටික කොටා කුඩු කර ගත යුතුයි. එයින් තේ හැඳි 1/2 ක් පමණ පිරිසිදු රෙදි කැබැල්ලක තියා විසුරුවා පයේ මාපටඟිල්ලට තබා රාත්‍රී නින්දට පෙර බැඳගත යුතුයි. මෙහිදී සුද ඇත්තේ වම් ඇසේ නම් දකුණු කකුලේ මහපටඟිල්ලටත්, දකුණු ඇසේ නම් වම් කකුලේ මහපටඟිල්ලටත් ලෙස කතිරය සේ මාරුවෙන්න මේ බේත බැඳගත යුතුයි. මොකද මාපටඟිල්ලේ නිල සම්බන්ධය ඇස් දෙකට තියෙන්නේ වම දකුණ මාරුවටයි. මාපටැඟිලි දෙකටම බැන්ද කියලත් අගුණයක් නෑ. මෙහිදී මහපටඟිල්ලේ තුඩ වැසෙන විදිහටයි බේත බඳින්නේ. මේ විදියට බැඳගත් බේත පසුවදා උදේට ලිහල ඉවත්කරනවා. පරණ කුඩු ටික ඉවත් කර අලුතින් දමා මේ විදිහට මාස 3 ක් යනකල් රාත්‍රියට බැඳ පසුවදා ඉවත් කරනවා.

මේ ඇඟිලි තුඩු ඇසේ ස්නායුත් එක්ක කෙලින්ම සම්බන්ධයි. ඒ නිසා ඇඟිලි තුඩු අගින් ඒක ඇසට ඇදල ගන්නවා. එහෙම ඇදල අරන් ඇසට සම්බන්ධ විෂ අපද්‍රව්‍ය කොටස් එකතු කරල පුච්චල දානවා. ඒ නිසා සමහර විට මේ බේත බැන්දම කකුල රත්වීමක් වෙන්න පුළුවන්.

දැන් මේ කියන බෙහෙත් ප්‍රත්‍ය වීම කරුංක කියන වචනයේ පද නිරුක්තියෙනුත් ඔප්පු කරන්න පුළුවන්. කරු කියන්නේ කෲර බවයි. අන් කියන්නේ ආහාරයයි. කෲර බව නිසා හටගත් ආහාරය කා දමනවා කියන එක හෙවත් කර වූ අන් කා දමනවා කියන එකයි කරුංක යන්නෙන් කියවෙන්නේ. මෙතනදී කරවූ කිව්වේ නරක් වෙලා අපද්‍රව්‍ය බවට පත් වූ කියන එකයි. කෲර කිව්වෙත් ඒකයි. මොකද ඒ වගේ අපද්‍රව්‍ය බවට පත්වෙලා වේලිලා ගියපු ද්‍රව්‍යවලින් තමයි ඇසේ සුද තියෙන සිවිය හැදෙන්නේ. කරුංකවලින් ඒ අපද්‍රව්‍ය කොටස විනාශ කරනවා.

හැබැයි මේ ක්‍රමය සියයට සියයකටම සාර්ථක නොවෙන්න පුළුවන්. මොකද සමහර අයට කර්ම ශක්තිය හෝ වෙනත් බාහිර හේතූන් නිසා ඇස් පෙනීම දුර්වල වෙන්න පුළුවන්. මේ නිසා මේ ප්‍රතිකර්මය හතලිස් ඇඳිරිය වගේ වෙනත් රෝගවලට හෝ ස්වභාවිකව වයසට යෑම නිසා ඇතිවන නොපෙනීමටත් අදාල වෙන්නෙ නෑ. යම් කිසි ආකාරයකට සෙම නරක්වෙලා ඇසේ සුද ඇතිවෙනවනම් ඒක මේ ප්‍රතිකර්මයෙන් සුද්ධ කරනවා. මේ හේතුවෙන් හටගන්නා සුද මතුවීම තමයි අද 50% කටත් පමණ වැඩි පිරිසකට තියෙන්නේ. ඇස්වලට හෝ ශරීරයට කිසිම අගුණයක් නැති නිසා මේ බේත පාවිච්චි කළා කියල හානියක් වෙන්නෙත් නෑ.

පැරණි සිංහල වෙදකමෙත් ඇහේ අමාරුවට පයේ මාපටඟිල්ලට බෙහෙත් බඳින ක්‍රමයක් තිබුණා. නමුත් ඒ ක්‍රමය කවුරුවත් හරියට කියන්න දන්නෙ නෑ. සමහර දේශීය වෛද්‍යවරු ඇසේ සුද හැදෙනකොට පොල්කිරි, කජු වගේ සුද තියෙන කිරි ආහාර වර්ග දෙන්නෙ නෑ. නමුත් බටහිර වෛද්‍ය විද්‍යාවෙ නම් එහෙම ආහාර පාලනයක් නෑ. සුද සනීභවනය වෙන්න ඒවා ඔක්කොම දෙනවා. ඊට පස්සෙ සනීභවනය වුණාම පටලය ගලවලා කාච දමනවා. ඒක වෙනම ක්‍රමයක්. මේ කරුංකා ප්‍රතිකර්මයේදීත් එවැනි ආහාර පාලනයක් කිසිසේත්ම අවශ්‍ය වෙන්නෙ නෑ. මේක වෙනම ප්‍රතිකර්මයක්. මේ විදිහට මාසයක් පමණ යනකොට පෙනීම ඇතිවන බව තමන්ටම දැනෙනවා. මාස 3 ක් යනකොට සම්පූර්ණයි.

මේ කරුංකා ප්‍රතිකර්මය සාර්ථකව යොදා ගත් වෙනත් අවස්ථාවක්ද අභයරතනාලංකාර හිමියන් අත්දැක තියෙනවා. එක්තරා පුද්ගලයෙකුගේ අතක ඇඟිලිවල ඉන්නන් වැනි ගෙඩි වගයක් හටගෙන තිබුණා. ඒකෙන් අත නවන්න කරන්න බැරි වුණා. ඒකටත් අර වගේ කරුංකා අඟුරු කුඩු තියල බැන්දා. දින 7 ක් එසේ බැන්දොත් සුව වෙන බවයි සමාධියට පෙනුනේ. 7 වන දිනයේදී අතට දැනෙන, ඇතිච්ච කළු කටුවක් තිබිල ඇදල ආවා. ඒකෙන්ම හොඳ වුණා.

මේවගේ ප්‍රතිකර්ම විශ්වයේ තියෙන ආයුර්වේද නිධාන දින පොතෙන් තමයි සමාධියට හසුවෙන්නේ. (හෙළ බොදු පියුම 7 වන කලාපයෙන්ද මේ පිළිබඳ කෙටි හඳුන්වා දීමක් කළා.) ඊට අනුව රෝග මූල නිධානයට අනුවමයි ප්‍රතිකර්මය එන්නේ. මොකද රෝගයක් හටගන්නේ විවිධ ක්‍රමවලින්. මේ නිසා එක රෝගයකට ප්‍රතිකර්ම කිහිපයක් තියෙන්න පුළුවන්. ඒකෙන් විශේෂම ක්‍රමය තමයි පළමුවෙන්ම සමාධියට හසුවෙන්නේ. කෙනෙකුට ඒකෙන්ම හොඳ වෙනවා. නමුත් සමහර අයට ඒ ක්‍රමයෙන් හොඳ වුණේ නැත්නම් තවත් ප්‍රතිකර්මයක් එනවා. ඒ ක්‍රමයෙන් ඒ අයට හොඳ වෙනවා. නමුත් ඒක අපට මුලින්ම නිගමනය කරන්න බෑ. ක්‍රමය ආවම තමයි අභවල් එකයි කියල කියන්න පුළුවන්කම ලැබෙන්නේ. පළමුවෙන්ම පොදු සුලභ ක්‍රමයක් තමයි එන්නේ. ඒ වගේ සමාජයේ වැඩි පිරිසකට ඇසේ සුද හටගන්නා ක්‍රමයට බෙහෙතක් තමයි මේ පෙන්වා දුන්නේ. මේක බොහෝ අත්දැකීම් සහිතයි. වියදමක් හෝ මහන්සියක් නෑ. අගුණයකුත් නෑ.

**සමාධියට හසු වූ තවත් අත් බෙහෙතක්.**

**මනුස්ස ශරීරයේ ඉන්න අසූ (80) කුලයක පනුවන් ගැන බුදු දහමේ සඳහන්** වෙනවා. උඳු ගොව්වත් මින් කුලයකට අයිති වෙනවා. උඳු ගොව්වා කෑම නිසා අකලට හිස කෙස් නැතිවීම සුවකර නැවත කෙස් වැඩීමටයි මේ ප්‍රතිකර්මය පෙන්වා දෙන්නේ.

පල්මානික්කම් කැබැල්ලක් අරගෙන ටින් එකක දමා ගිනියම් වෙන්න රත්කරන විට එහි නිල් පාට දුරුවී ගිහින් සුදු පාටට ප්‍රසාරණය වෙලා අළු වෙනවා. ඉන්පසු නිවෙන්න හැර කුඩු කර තබා ගෙන, වයස අවුරුදු 8 - 12 අතර නිරෝගී පිරිමි ළමයෙකුගේ මුත්‍රාවලින් ඒ කුඩු දියකර, නැමට පැයකට පමණ පෙර හිසේ කෙස් හැලී ගිය හැම තැනම ගැල්විය යුතුයි. ඉන් පසු හිසේ සබන් නොගා නා ගත යුතු අතර දින 7 ක් මෙසේ කළ යුතුයි. දින 7ක් මේ ප්‍රතිකර්මය කිරීම ප්‍රමාණවත් වන අතර ඉන් පසු සබන් ගා නා ගත්තට කමක් නෑ. මසක් පමණ යන විට නැවතත් කෙස් ඇදී නිරෝගී කෙස් වැඩෙන්න පටන් ගන්නවා.

පල් + මානික් + ක + අන් - පල්මානික්කම්. පල් කියන්නේ පල්වූ අපද්‍රව්‍යයි, මානික් කියන්නේ ශුද්ධතාවයයි, ක කියන්නේ ක්ෂය කරනවා කියන එකයි, අන් කියන්නේ ආහාරයයි. ඒ අනුව අශුද්ධ පල්වූ අපද්‍රව්‍ය නිසා හටගත් ආහාරය ක්ෂය කරනවා කියන අදහස තමයි පල්මානික්කම් කියන වචනයේ නිරුක්තියෙන් කියවෙන්නේ. මේ අනුව මේ බෙහෙතේ ප්‍රත්‍ය වීම පද නිරුක්තියෙනුත් ගම්‍ය වෙනවා.

*සටහන :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# උපමා උපමේය සංසන්දනයෙන් අධි වචනවල නිරුක්ති සොයා ගන්නා හැටි

*(පසුගිය කලාපයෙන් - භාෂා නීති රීතිවලට කොටු නොවී සැඟවුණු දහම් අරුත් මතුකර ගැනීමට බුදුන් වහන්සේ පෙන්වා දුන් පද නිරුක්ති ක්‍රමය ත්‍රිපිටක ධර්මය තුළින්)*

නිරුක්ති ගැන කතා කරද්දී වැදගත් වන තවත් කොටසක් තමයි අධි වචන. **එක් කාරණයක් විග්‍රහ කිරීමේදී ප්‍රධාන වචනයට අමතරව ඒ වචනය හැඳින්වීමට ගොඩනැගුණු තවත් වචන තමයි අධි වචන කියන්නේ.** ''ඒවං උපසංහරතී'' කියන උපමා උපමේය සංසන්දනයෙන් මේ අධි වචනවල නිරුක්තිය සොයාගත යුතුයි. අධිවචනවල නිරුක්තිය හොයාගන්න ඕන නම් එහි උපමාව සොයාගත යුතුයි. එනම් මොන හේතුවෙන්ද ඒක කිව්වෙ කියන කාරණය සොයා බලන්න ඕන. ත්‍රිපිටකයේ එන සූත්‍ර දේශනා කිහිපයක් අනුසාරයෙන් මේ කාරණය එකින් එක පහදා ගැනීම වැදගත්.

<u>ඵේණ පිණ්ඩූපම සූත්‍රයේ</u> **දී (සං.නි 3, 240 පිටුව) රූපය පෙණ පිඬක් ලෙසත්, වේදනාව දිය බුබුළක් ලෙසත්, සංඥාව මිරිඟුවක් ලෙසත්, සංඛාර කෙහෙල් කඳක් ලෙසත්, විඤ්ඤාණය මායාකාරයෙක් ලෙසත්** උපමා මගින් පෙන්වා දී තියෙනවා. දැන් මෙහි දී රූපය පෙණ පිඬක් වගෙයි කිව්වම පෙණ පිඬුවේ ඇතුළතත් පිටතත් හරයක්, සාරත්වයක් තියෙනවද කියල බුදුන් වහන්සේ අහනවා. එවිට භික්ෂූන් වහන්සේලා නෑ කියල උත්තර දෙනවා. මේ හේතුවෙන් රූපයත් පෙණ පිඬුවක් වගේ කියල පෙන්වනවා. පෙණ පිඬුවේ ඇතුළතත්, පිටතත් ගන්න හරයක් නැති ස්වභාවය තමයි මේ කයේ තියෙන්නෙත්. රූපය පෙණ පිඬක් වගේ කියල අධි වචනය හැදුණේ මේ ක්‍රමයට උපමා උපමේය සංසන්දනය කරලයි.

ඊළඟට වේදනා කිව්වම සැප, දුක්, උපේක්ඛා කියන තුන් වර්ගයේම වේදනා එනවා. සැප වේදනාවට හේතුවන ස්පර්ශයක් ආවොත් මොහොතින් සැප වේදනා එනවා. ඒ ස්පර්ශය බිඳෙනකොටම සැප වේදනාවත් මොහොතින් බිඳිල යනවා. දුක් වේදනාවට හේතුවන ස්පර්ශයක් එනකොටම සැප වේදනාව නැති වෙලා ඒ මොහොතේම දුක් වේදනාවක් දැනෙනවා. ඒ ස්පර්ශයත් මොහොතින් බිඳිල යනවත් සමගම දුක් වේදනාවත් ගෙවිල යනවා. උපේක්ෂාව ගෙනදෙන ස්පර්ශයක් ආවොත් ඒ මොහොතේම උපේක්ෂාව දැනී ඒ ස්පර්ශය බිඳිල යනවත් සමගම උපේක්ෂා වේදනාවත් ගෙවිල යනවා. මේ විදියට ස්පර්ශ එනවා, ගෙවිල යනවා කියන එකත් හරියට දිය බුබුළක් හටගෙන සැනෙකින් බිඳෙනවා වගෙයි. මේ හේතුවෙන් වේදනාව දිය බුබුළක් වගෙයි කියල පෙන්නුවා.

ඊළඟට සංඥාව ගත්තම සංඥා කියන්නේ බාහිර රූප කලාප එකතු කරලා, ඇති සේ මවා පෙන්වීමක් මිසක් කැලිවලට ගැලෙව්වොත් ඒ විදියට ඇති සේ පෙනුනු එකක් නෑ. කැලිවලට වෙන් කරල ඒක බලාගන්න බෑ. කැලි එකතු වුණාමයි ඇති සේ පෙනෙන්නේ. හරියට ජලය විදියට මිරිඟුව පෙනෙනවා වගෙයි. මේ හේතුවෙන් සංඥාව මිරිඟුව වගෙයි කියනවා. ඊළඟට සංඛාර කිව්වම, අපි හරයක් තියෙන දේවල් කියල හිතාගෙන





නොයෙක් දේවල් හිතනවා, කියනවා, කරනවා. උපමාවක් ගත්තොත් යම් කිසි පුද්ගලයෙක්, හොඳට ඇද නැතිව තියෙන නිසා හරයක් තියෙනවයි කියල හිතාගෙන කෙහෙල් කඳක් කපා ගන්නවා. ඉන්පසු ඒක කපල හරය බලන්න පතුරු ගහනවා. පතුරු ගලවපුවම කොතනකවත් හරයක් නෑ. මේ වගේ තමයි අපි කරන, කියන, හිතන වැඩපිළිවෙලවල්. අනාදිමත් සසරේ පටන් හරයක් තියෙනවයි කියල හිතාගෙන කරගෙන එනවා. නමුත් හොයල බැලුවම ගන්න හරයක් නෑ. ඉතින් නැවතත් හොයනවා. නැවත හම්බවෙනවා. ඒකෙනුත් හරයක් තියෙනවද කියල බැලුවම ඒකත් ගෙවිල ගිහින්. ඒකෙත් ගන්න දෙයක් නෑ. එහෙනම් අනන්ත සංසාරයේ හරයක් ඇති සිතිවිල්ලක්, කතාවක්, ක්‍රියාවක් අපට හම්බවුණා නම් අපි තවමත් ඒකෙ ඉන්නවා. එහෙනම් ඒ සිතිවිල්ල සදතනික සැනසීමක් වෙනවා. නමුත් එහෙම එකක් හම්බ නොවුණ නිසා තමයි ගෙවිල ගියේ. එහෙනම් කෙහෙල් කඳ පතුරු ගැහුවා වගේ තමයි මේ කියපු සංඛාරවලත් හරයක් නෑ. මේ හේතුවෙනුයි සංඛාර කෙහෙල් කඳකට උපමා කළේ.

ඊළඟට විඤ්ඤාණය මායාකාරයෙකුට උපමා කළා. මායාකාරයෙක් කියන්නේ, නැති දෙයක් ඇති සේ පෙන්වා රවටන කෙනෙක්. මේ වගේ හිතට මතුවෙලා එන දේවල්, ඇති දේවල් සේ රවටනවා. නමුත් ඇති දේවල් නෙවෙයි, ගෙවී වැනසී යන දෙයක් මායාවක් සේ හිත රවටනවා. මේ විඤ්ඤාණයේ ස්වභාවයයි. මේ තමයි බුදුන්වහන්සේ පෙන්වපු උපමා උපමේය සංසන්දනයෙන් නිරුක්ති හොයා ගන්නා ක්‍රම රටාව.

නමුත් මේ විග්‍රහය වරද්ද ගත්තු උදවිය, මේ විදියට අධි වචනයක් පෙන්නුවොත් ඒ වචනය පසුපස ගිහින් ඒකෙ හැඩරුව අරගෙන තර්ක කරනවා. සංඛාර කෙහෙල් කඳට උපමා කළාම කෙනෙක් මේ විදිහට අහන්න පුළුවන්, "මේක පුදුම කතාවක්නේ! මේ දිග පළල තියෙන අලි හොඬක් වගේ එකක් ද සංඛාර කියන්නේ? ඊට වඩා ලොකු සංඛාර නැද්ද?" ඒ වගේම තවත් කෙනෙක් මේ උපමා සංසන්දනය යථාර්ථවත්ව දකින්නේ නැතිව, විඤ්ඤාණය මායාකාරයෙක් වගේ කියන්නේ විඤ්ඤාණයත් මිනිහෙක්ද කියල අහන්නත් පුළුවන්. මේවා විතණ්ඩවාදී තර්කවාද මිසක් යථාර්ථය නෙවෙයි. ඒ අය බාහිර ස්වරූපයන් බලල විකෘති අර්ථයන් ගන්නවා. මේ විදියට අදහස් ගන්න යෑම උමතු ප්‍රාකෘතයටයි වැටෙන්නේ. නියම ප්‍රාකෘත හෙවත් මාගධී ප්‍රාකෘත වෙන්න නම් ඉහත පෙන්වපු ආකාරයට උපමා සංසන්දනය කර ☞

බැලිය යුතුයි.

යම්කිසි කෙනෙක් හේතුඵල සහිතව මේක හැදුණේ මේ විදියටයි කියල ඒ හේතුවෙන් යම් කිසි වචනයකට ආදේශ කරල කියන්න පුළුවන්. ඒ විදිහට අධි වචනයක් කියන කොට ඒක පිළිගන්නෙ නැතිව ඒ වෙනුවට වෙනත් එකක් කියන්න ගියොත් ඒක උමතු ප්‍රාකෘතයි. උදාහරණ ලෙස ''පටි'' කියන්නේ බැඳෙන ලක්ෂණයෙන් තණ්හාවෙන් බැඳෙනවා, ඡන්දරාගයෙන් බැඳෙනවා කියන අදහසයි. පටියෙන් කරන්නෙත් ඒ විදියට බැඳෙන එකයි. යම් කෙනෙක් විවාහයක් කරගත්තම එතැන බැඳෙනවා. බැඳුනම එතැන තියෙන්නේ පටියක ලක්ෂණයි. පටියෙන් බැන්දොත් යන්න බැරුවා වගෙයි, ආස්වාදයට බැඳිලා මායාවට කොටු වුණොත් දාල යන්න බෑ. **පටියකින් යමක් ඇඟට තියල හිරකරල බැන්දොත් මම, මගෙ කියන තමා වෙතින් ගලවල දාන්න බැරුව වගේ, ලෝකයට ඡන්ද රාගයෙන් බැඳුණොත් මම, මගෙ කියන තැනින් ගැලවෙන්න බැරි බව උපමා උපමේය සංසන්දනයෙන් දැනගත යුතුයි.** මේ වගේ ලෝක සත්ත්වයෝ සංසාරයට බැඳෙනවා. මේ තමයි මාගධී ප්‍රාකෘතයෙන් පෙන්වන පටිවල උපමාව. (ප්‍රාකෘත කියන්නේ පුරා කෘත හෙවත් පෙර පටන් ආපු කියන එකයි. මේකට ප්‍රකෘති ක්‍රම රටාව කියලත් කියන්න පුළුවන්.)



නමුත් මේ පෙන්වන ක්‍රම රටාව පැත්තකට දාලා ''පටි'' කියන්නේ ඉනේ බඳින ඒවායි, රෙදි පටියි, කර පටියි..... ආදී වශයෙන් කියන එක උමතු ප්‍රාකෘතයි. මෙහෙම ගියොත් බුදුන් වහන්සේ පෙන්වපු ''අන්තෝ ජටා බහි ජටා - ජටාති ජටිතා පජා - ඇතුළතත් ගැට පිටතත් ගැට, ප්‍රජාව ගැටලුවලින් ගැට ගැහිලා '' කියන එකටත් මේ තර්කවාදීන් කියයි, මෙන්න අමුතු ගැට ජාතියක් ! ළුණුකඩ ආදියෙනෙ ගැට ගහන්නෙ, ප්‍රජාව කියන්නෙ ළුණු පොටවල්ද කියල. එහෙම නැත්නම් කියයි, පලතුරු ආදී ගෙඩිවල පැහිච්ච නැති ඒවටනෙ ගැට කියන්නෙ, ප්‍රජාවත් පලතුරු ජාතියක්ද කියල. මේව තමයි විතණ්ඩවාදී තර්ක කියන්නෙ. නමුත් අන්තෝ ජටා බහි ජටා කිව්වෙ සමාජයක වූ පුද්ගලයන් තුල, බාහිරට ඇතිවන විසඳාගත නොහැකිව ලතැවෙන විවිධ ගැටළුවලටයි. මේ නිසා අධි වචන ස්පර්ශය හැඳෙන හැටි ධර්මානුකූලව තෝරා ගත යුතුයි.

අධි වචන සම්බන්ධයෙන් බුදුන් වහන්සේ දේශනා කරපු තවත් තැනක් තමයි සංයුක්ත නිකාය (2) 345 පිටුවේ එන <u>බලිස සූත්‍රය</u>. පාපී මාරයාට කියන තවත් නමක් තමයි බිලී වැද්දා. බිලී වැද්දා කරන්නේ රසවත් ආහාරයක් මගින් ඇමක් ගහලා බිලී කොක්ක දාලා මාළු බාන එකයි. මාළුවා ඇම ගිලලා කොටුවුණාට පස්සෙ බිලී වැද්දට ඕන දෙයක් කරගන්න පුළුවන්. **මේ වගේ මාරයා (ක්ලේශ මාර) පංචකාමය නමැති ඇම ගැහුවමත් ඒ ඇම ගිලින මිනිහා ඒකට කොටුවෙනවා. බලිස්සන්තී කියන්නේ ලාභ, කීර්ති, ප්‍රශංසාවලට කියන අධි වචනයක් බවත්** මේ සූත්‍රයේ දක්වෙනවා. බලි කියන්නේ බිලී කටුවයි. ''මහණෙනි, ලාභ, කීර්ති, ප්‍රශංසා තියුණුය, රළුය, අනුත්තර වූ



අරහත්වාවබෝධය පිණිස අන්තරාය කෙරේය. මහණෙනි, යම්කිසි බිලී වැද්දෙක් ඇමෙන් යුතු බිලිය ගැඹුරු දිය විලක බහාලන්නේ ද, මෙහි ලූ ඇස් ඇති එක්තරා මත්ස්‍යයෙක් එය ගිලින්නේය. මහණෙනි, මෙසේ ඒ මත්ස්‍ය තෙමේ බිලිය ගිලගත්තේ දුකට පැමිණියේ, වැනසුමට පැමිණියේ, බිලී වැද්දී විසින් කැමති සේ කටයුත්තක් වන්නේය.''

මෙහි දී බිලී වැද්දාට කියන්නේ බාලසිකස්ස කියලයි. මේක පාපී මාරයාට කියන තවත් වචනයක්. මාරයාට එහෙම කියන්නේ ඇයි? **ලාභ, කීර්ති, ප්‍රශංසා කියන ඒවා මාර ධර්ම. ඒවාට උපමාවක් තමයි මේ බිලිය ගිලින මාළුවාගේ ඇති වන්නා වූ මරණය හෝ මරණය හා සමාන දුකකට පත්වීම.** බිලී වැද්දාගේ ඒ සම්බන්ධයෙන් තමයි ලාභ, කීර්ති, ප්‍රශංසාවලට බාලිසිකස්ස කියන්නේ. පාපී මාරයා කියන්නේ මේ ලාභ, කීර්ති, ප්‍රශංසාවලටයි. එහෙනම් බිලී වැද්දා, බාලිසිකස්ස, බලිස්සන්තී ආදී වශයෙන් කියන්නේ මාරයා හඳුන්වන අධි වචනයි. මාරයා හඳුන්වන විවිධ වචන (වේ වචන කියන්නෙත් මේවාටයි.) මෙයින් පෙන්වනවා. වේ වචනවල නිරුක්තිය ගන්නේ එහි තියෙන උපමාව සංසන්දනය කරලයි. **ඇම ගහල තියෙන බිලිය ගිලින මාළුවා අමාරුවේ වැටෙනවා වගෙයි, බිලී බාන මිනිහට කැමැත්තක් කරගන්න ගොදුරු වෙනවා වගෙයි, ලාභ, කීර්ති, ප්‍රශංසා පසුපස හඹා යෑමත් ඒ බිලියට උපමා කළා.** ලාභ, කීර්ති, ප්‍රශංසා ගිලගන්න ගියාමත් බිලිය ගිල්ලා වගෙයි. මේක උපමාවක්. බිලිය ගිලීමේ තිබෙන්නා වූ උපමාව ඒකට අධි වචනයක්. **රස තණ්හාවෙන් ආහාර ගැනීමෙන් කය ක්ලේශ මාරයාට බිලියක් වන නිසයි ඒ ආහාරයට කබලිංකාර (කය බලි කරන) ආහාර කියල කියන්නෙ.** එහෙම නැතිව හපල කන නිසා නෙවෙයි.

දැන් බුදුන් වහන්සේ පෙන්වපු මේ නිරුක්ති රටාවට ගැළපෙන විදියට, පසුකාලීනව භාෂා විශාරදයන් හදාගත් යම්කිසි භාෂා නිරුක්ති ක්‍රම රටාවකින් පුළුවන්ද මේ කියන අර්ථයන් දෙන්න? **මාරයාට බලිස්සන්ති කියන වචනය හැදුණේ මේ රටාවටයි කියල ඒ අධි වචනය භාෂා නිරුක්තිවලින් නිර්වචනය කරන්න පුළුවන්ද? එහෙම ගන්නව නම් ඒ ක්‍රමය මොකක්ද?** නමුත් මේ උපමාව පරිදි උපමා උපමේය සමානයි කියල සංසන්දනය කරල, දහම් අදහස මතුවෙන විදියට ඒ අනුසාරයෙනුයි අධි වචනයක් හැදිල තියෙන්නේ. තවත් උදාහරණයක් ගත්තොත් **මඩ කියන්නේ කාමයට කියන අධි වචනයක්. (අං.ගු.නි.5, 250 පිටුව - <u>කාමාධි වචන සූත්‍රය</u>)** හැබැයි **මඩ කියන්නේ පඨවි ධාතුවක්, කාමය කියන්නේ හිතේ තියෙන නාම ධාතුවක්. කාමය නාම ධර්මයක්. නමුත් මඩ කියන්නේ රූප ධර්මයක්.** එහෙනම් කොහොමද කාමයට, මඩ අධි වචනයක් වුණේ? එතකොට මඩ කියන එක උපමා උපමේය මගින් විග්‍රහ කරල දිය යුතුයි. **නමුත් කාමයට මඩ කිව්වොත් භාෂා රීතියකින් පුළුවන්ද මඩ කියන එක පද බෙදලා කාමය ඔප්පු කරන්න?** එහෙම ක්‍රමයක් නෑ. නමුත් බුදුන් වහන්සේගේ නිරුක්ති සහ අධි වචන ක්‍රමයට ඒක ඔප්පු කරන්න පුළුවන්.

එහෙනම් බුදුන් වහන්සේ ලිඛිත භාෂාවක් අනුමත කළේ නැතිනම් එවැනි භාෂාවක් පසුව හදා ගත්තෙ කවුද? එසේ හදාගත් භාෂාව බුද්ධ වචන කියල කියන්න පටන් ගත්තෙ කවුද? හදාගත් භාෂාවකින් ගත් පද බෙදීම්වලට මේවායි බුද්ධ වචන, මේවායි මාගධී නිරුක්ති කියල ගන්නේ මොන න්‍යායකින්ද? බුදුන් වහන්සේ අධි වචනවලින් පෙන්වපු මාගධී ප්‍රාකෘත ක්‍රමයට උමතු ප්‍රාකෘත කියල කියමින්, පසුව හදාගත් භාෂාවෙන් ගෙනාපු ක්‍රමය මාගධී ප්‍රාකෘත කළේ කව්ද? කාලයක් තිස්සේ සාම්ප්‍රදායිකව ගෙනාපු මේ භාෂා ක්‍රමය මිනිස්සුන්ගේ හිත්වලට කාවැද්දීම නිසා ඒකට මාගධී ප්‍රාකෘත කියල කියන්න පටන් ගත්තා. නමුත් මේ පසුව හදාගත් භාෂා ක්‍රමයේ මුල කොහේද කියල හොයල බැලුවොත් භාෂා විශාරදයෝ, නැත්නම් බමුණන්ගේ ත්‍රිවේදය මගින් එදා හිටපු ආචාර්යවරු තමයි මේ භාෂා රීති ව්‍යාකරණ හැදීමේ පුරෝගාමියෝ වෙලා තියෙන්නේ. ඒ අය හදාගත් වාදයක් තමයි මේ තියෙන ලිඛිත භාෂාව. නමුත් ඒක ආචාර්ය වාදයක්. ඒ ආචාර්ය වාදය බුදුන් වහන්සේ අනුමත කළෙත් නෑ. නමුත් සාම්ප්‍රදායිකව ගෙන එන භාෂාවකින් ජනපද නිරුක්ති හැදෙනවා. ඒවා කිසිම භාෂා විශාරදයෙකුගේ න්‍යායකට අනුව හැදිච්ච එකක් නෙවෙයි. ඒ ඒ ප්‍රදේශවල ඉන්න මිනිස්සුන්ගේ යම්කිසි කටට හුරුවෙන විදියට හැඟීමට එන විදියටයි ඒක ගොඩනැගුණේ. අනාගතයේ දී ගොඩනැගෙනවා නම් ගොඩනැගෙන්නෙත් එහෙමයි.

ඉතින් මේ කියන හේතු නොදැක, නිරුක්ති නොදැක මේවා තෝරන්න ගියාම පැටලෙනවා. උපමාවේ පරමාර්ථ අර්ථය නොගෙන සම්මුති අර්ථය ගන්න ගියාම ඒක වෙනවා. පෙන්වපු උපමාව සම්මුති අර්ථයෙන් ගන්න ගියොත්, සංඛාර කෙහෙල් කඳක් වගෙයි කිව්ව එක කොහොම නම් තෝර ගන්නද? කිව්වෙ මොකක්ද කියලවත් හිතාගන්න බෑ. මේ නිසා උපමාවේ බාහිර සම්මුති අර්ථය අරගෙන විග්‍රහ කරන්න ගියොත් ඒ පුද්ගලයා උමතු ප්‍රාකෘතයට වැටෙනවා. මාගධී ප්‍රාකෘතය නම් ඒකෙන් හරියටම අදහස් කළ අදහස ගත යුතුයි. නිරුක්ති පටිසම්භිදා ඥානය සුළුවෙන් හෝ නැත්නම් ඒක තෝරගන්නත් බෑ. ඉතින් උපමා සංසන්දනය කරල ගන්න ක්‍රමය දන්නෙ නැතිව හෝ දැනගෙන කපටිකමට හෝ තමන්ගේ මතය ජය ගන්න විවිධාකාරයේ තර්ක මතු කරනවා.

එදා ත්‍රිවේද පරප්‍රාප්ත බමුණන් කියල හිටපු කට්ටිය ගැන විග්‍රහවෙන කොට, බමුණන්ගේ ත්‍රිවේදයෙත් නිරුක්ති කියල කොටසක් ස්ථිරවම තිබිල තියෙනවා. හැබැයි ඒවා භාෂා නිරුක්ති. ඒ භාෂා නිරුක්ති ඒ අය විසින් හදාගත් ක්‍රමයක් තියෙනවා. ඒවා ඒ ඒ පදවලට භාෂාවෙන් හදාගත් ක්‍රමයක්. ඒක තමයි බමුණන්ගේ තිබුණු වේදය. ඒ කාලයේ වුණත් වේදයෙන් නැගුණු නිරුක්තිය නෙවෙයි යථාර්ථයෙන් මතුවෙලා කිව්වේ, ධර්මානුකූලව නැගුණ නිරුක්තියයි. ව්‍යවහාරයේ අදහස කැටි කරල ගත්තු අදහස තමයි ඒ යථාර්ථවත් නිරුක්තිවලට තිබුණේ. බුදුන් වහන්සේ පෙන්නුවෙත් ඒ ක්‍රමයයි.

මෙතන දී **ඉංග්‍රීසි භාෂාවෙන් හෝ වෙනත් ආගන්තුක භාෂාවකින් හෝ නිරුක්තියක්, සිංහල භාෂාවෙන් දීම කියන්නේ ඉතා සියුම් කාරණයක්.** එහෙම වෙලාවක වුණත් භාවිත අර්ථයකට ගැළපෙන අදහසක් මුල් කරගෙනයි වචනයක් මිනිසුන් අතර රැඳෙන්නේ, පිහිටන්නේ, භාවිතා වෙන්නේ. එතකොට ඒක විශේෂයෙන්ම ජනතාව අතරේ පිහිටනවා. ඒ ඒ භාෂාවන් අතරේ ඒ අදහස දෙන කොට ඒක තමන්ගේ හැඟීමට එන්න ඕන. මේ නිසා හැඟීමෙන් ඒ අදහස ගන්නවා මිසක් භාෂාවෙන් ගන්න බෑ. උදාහරණයක් විදියට උස්සනවා කියන වචනය ගත්තම, ඉස්සර මිනිස්සු අතර තිබුණු අදහස තමයි භාෂා අර්ථයෙන්ම යම් කිසි භාණ්ඩයක් ඉස්සීමේ ක්‍රියාවලිය. නමුත් මේ මෑත කාලයේ පටන් ඒ අර්ථය වෙනත් අදහසක් ගන්නත් යොදා ගන්නවා. අද උස්සනවයි කිව්වොත් මීට අවුරුදු හතළිහකට පනහකට පමණ ඉස්සර තිබ්ච්ච අර්ථය නෙවෙයි ගන්නේ. අද ඒකෙන් කියවෙන්නේ වෙනත් අර්ථයක්. මගේ අහවල් එක උස්සලා, අහවලා උස්සලා..... ආදී වශයෙන් අද කියන්නේ එදා අර්ථයෙන් නෙවෙයි. බොහෝ විට යමක් හොරකම් කිරීම හෝ පැහැර ගැනීම හඳුන්වන්න තමයි අද ඒක යොදා ගන්නේ. මේ නිසා සමහර විට එදා තිබ්ච්ච අර්ථ ගන්නෙයි කියල හිතාගෙන, අදත් ඒ විදියටම කිව්වොත් මිනිස්සු හිනාවෙන්නත් පුළුවන්. මේ නිසා එදා තිබ්ච්ච අර්ථය අද ගන්න නම් ඒක වෙන විදියකට කියන්න වෙනවා. නැත්නම් මිනිස්සු තේරුම් ගන්නේ වෙන අර්ථයකින්.

මේ වගේ තවත් උදාහරණයක් තමයි මළ කියන වචනය. **ඉස්සර මළ කියල භාවිතා කළේ රාග, ද්වේශ, මෝහවලට.** (<u>චුල්ල නිර්දේෂ පාලිය - පාරායනාගීති නිර්දේශය</u> 427 පිටුව) නමුත් අද මළ පනිනවයි කිව්වම අර්ථය ගන්නේ ඊට වඩා බොහොම පටු විදිහට. කෙනෙකුට තරහ ගියාම තමයි එහෙම කියන්නේ. හැබැයි මළ කියන්නේ මොකක්ද කියල දන්නෙ නැතිවයි එහෙම කියන්නේ. මෙතන කියන්නේ රාග, ද්වේෂ, මෝහ (මළ) එළියට පැන්නා කියන එකයි.

ඒවගේම අපි අද ම්ලේච්ඡ කියල භාවිතා කරන වචනයක් තියෙනවා. යම්කිසි කෙනෙක් දරුණු සාහසික විදිහට හැසිරෙනවනම්, ඒවගේ වැඩ කරනවනම් අපි ඒවාට ම්ලේච්ඡ වැඩ කියල කියනවා. නමුත් ඒකෙ නිරුක්තිය දැනගෙන හිටියෙ නෑ. මළ + **ඉච්ඡ කියන එක තමයි ම්ලේච්ඡ වුණේ.** මළ කිව්වේ රාග, ද්වේශ, මෝහවලට. ඉච්ඡ කිව්වේ කැමැත්තට. එහෙනම් **මළවලට තියෙන කැමැත්ත තමයි ම්ලේච්ඡ කිව්වේ.** එතකොට අදහස හොඳට ගැළපෙනවා. නමුත් මේ වෙනස්වීම් කිසිම භාෂා ව්‍යාකරණ රීතියකට අනුව හැදිච්ච එකක් නෙවෙයි.

මිනිසුන් අතර අදහස් ප්‍රකාශ කිරීමේ දී ව්‍යවහාරයේ විවිධ වචන භාවිතා කිරීමෙන් මේ කියන කාරණය අද හොඳට පේන්න තියෙනවා. ජනපද නිරුක්තිවලට පහර ගහන්න එපා කියල බුදුන් වහන්සේ දේශනා කළෙත් මේ නිසයි. නමුත් අද අපේ අය වචනයක ඉස්පිල්ලක් පාපිල්ලක් එහාට මෙහාට වුණත් භාෂා රීතියක් අල්ලගෙන, මේ කියන්නේ මහ පිස්සු මතයක් කියල තර්ක කරනවා. ඉතින් **අහන කෙනාට අදහස තේරුම් ගන්න පුළුවන් නම් ඉස්පිලි, පාපිලි , ව්‍යාකරණ ආදිය කොහොම තිබුණත් ප්‍රශ්නයක් නෑ.** ලෝකායත ශාස්ත්‍රවිධි ඉගෙන ගෙන නිවන් දකින්න පුළුවන්ද කියල බුදුන් වහන්සේ අහපු ප්‍රශ්නය නැවත සිහි කිරීම මෙතනදී වැදගත්. මේ ඒ සඳහා හොඳ උදාහරණයක්.

ඇහැක් නම් කන්ඩ බැරිනම් වහ දාන්ඩ" දැන් මේ කාරණය භාෂාව අනුව විසඳන්න ගියොත් එන අදහස මොකක්ද කියල හැමෝටම හොඳට තේරෙනවා ඇති. නමුත් ලක්දිව එක පෙදෙසක තියෙන ජනපද නිරුක්තියක් තමයි මේ. මෙයින් අදහස් කළේ, යම් ආහාරයක් පෙන්වා පුළුවන්නම් කෑමට ගන්න, බැරිනම් වසා තබන්න කියල එක් පෙදෙසක අදහස් ප්‍රකාශ කරන නිරුක්ති ක්‍රමයක්. නමුත් ඕක භාෂාවෙන් ගත්තොත්, කන්න බැරිනම් වස (විෂ) දාන්න කියන විකෘති අදහස තමයි එන්නේ. ඒ නිසා **භාෂා රීති කියන්නේ ලේඛකයන්ගේ දැනුම් සම්භාරයේ කොටසක් මිසක් අදහස් ප්‍රකාශ කරන්න, පෙර පටන් භාවිතා කරපු දෙයක් නොවන බව පේනවා. අදහස වටහාගෙන නිවන් දැක්කා මිසක් භාෂා රීති වටහා ගෙන නිවන් දැකපු කෙනෙක් මේ බුදු සසුනේ අහන්න නෑ.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මෙසේ වූ සිව්පසය වැළඳීමට වඩා ගිනි අඟුරු ගිලීම හොඳයි - (බුදු පියාණන් වහන්සේ)

බුදු පියාණන් වහන්සේ විසින් මහා ගිනි ජාලාවක් උපමාකොට කරන ලද දීර්ඝ දේශනාවක් ත්‍රිපිටකයට අයත් අංගුත්තර නිකායේ 4 වන පොතේ 464 පිටුවේ අග්ගික්ඛන්ධෝපම සූත්‍රය වශයෙන් ඇතුලත්වී තියෙනවා. මේ දේශනය ඉතා දිගු එකක් වුනත් එදා මහ රහතන් වහන්සේලා විසින් එය කැටිකර සූත්‍රයක් වශයෙන් සංෂිප්ත කර, සංඝායනා කර මුඛ පරම්පරාවෙන් ගෙනවිත් ලේඛණාරූඪ කර ඇත්තේ, එයින් මේ සාසන පැවැත්මට දී ඇති අවවාදය බුදු සසුන පවතින තාක් අත්‍යාවශ්‍ය වන වැදගත් කාරණයක් නිසයි.

මෙසේ ගිනි උපමාවක් තේමා කරගත් සූත්‍ර දේශනාව, **බුද්ධ සාසනයට ඇතුල්වී සිටින භික්ෂු භික්ෂුණීන් වහන්සේලා වෙතින් දන හෝ නොදැන කෙරෙන වරදක් නිවැරදි කරවීම සඳහා කරන ලද්දක්.** මහා ගිනි කඳක් උපමා කරමින් කර ඇති මේ දේශනය දන හෝ නොදන විනය විරෝධී, කාම මෛථුන ආදී පාරාජිකා වරදක් කළ යමෙක් නිර්දය අවමානයටත් බියටත් පත්කරවන්නක්. එසේම **මේ අවවාදය භික්ෂූන් වහන්සේලාට අපාගත බවින් මිදීමටත්, මගඵල ලාභීත්වයටත් නැවත නැවත සිහිපත් කරවිය යුතු වටිනා දහමක්.** බුද්ධ සාසනය පවතින තාක් සාසනයට ඇතුල්වන භික්ෂු භික්ෂුණීන් වහන්සේලා වෙනුවෙන් කර ඇති මේ අවවාදය කොතරම් බරපතල කාරණයක් වෙනුවෙන් කරන ලද්දක් දැයි නිවැරදිව දැනගැනීම වැදගත්.

මොකද ඒ කැටි කිරීමෙන් සංෂිප්ත උපමා සූත්‍රයක් කර ඇති මේ දේශනාවෙන්, නිවන් මග අනුගමනය කරන සංඝ පරම්පරාවට උන්වහන්සේ කර ඇති බරපතල අවවාදය සැබෑ අරුතින් දැනගැනීම මෙකල දුර්ලභ වී ඇති නිසයි. එහෙම අහන්න දුර්ලභ වෙන්නත් හේතුවක් තියෙනවා.

මොකද මේවගේ සංෂිප්ත කළ සූත්‍රයක වචන වැල කියවා එහි මතුපිටින් පෙනෙන ලෝක සම්මත භාෂා අර්ථය දුන්නට, ඒ දේශනය කරන්න පාදක කරගත් අදහස එළි දකින්නෙ නෑ. ඒ සඳහා අනිවාර්යයෙන්ම අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන යන සිව් පිළිසිඹියාව ලැබූ උත්තමයෙකු වෙතින් සූත්‍රය දිගහැර, සැඟවුන අර්ථ එළි දක්වූ දේශනයක් කවදා හෝ අහන්න ලැබිය යුතුයි.

මේ අග්ගික්ඛන්ධෝපම සූත්‍රය පිළිබඳ නිධාන කථාව මෙසේය. බුදුපියාණන් වහන්සේ දිනක් අළුයම මහා කරුණාවෙන් ලෝකය දෙස බලනකොට භික්ෂූන් විශාල පිරිසකට අධිගමය ලැබීමේ හේතු වාසනා උදාවී ඇති බව දැක්කා. එසේම මාර්ග ආසන්න පෙදෙසක වියළී ගිය විශාල ගසක් ගිනි ඇවිලී මහා ගිනි





ජාලා විහිදවනු දිවැසින් දක, ඒ උපමා කොට යම් ධර්මයක් දේශනා කළේ නම්, සීලවන්ත ගුණවන්ත විශාල පිරිසක් සසර භය දක අරිහත්වයට පත්වෙන බවත්, වංචාවෙන් කපටිකමින් ජීවත් වෙමින් ලාභ, කීර්ති, ප්‍රසංසා සඳහා මේ සාසනය තුළ සැඟවී දුස්සීලව සිටින්නන් කොටසකට සාසනය හැරයන්න සිදුවන බවත්, එසේම තවත් කොටසකට ලේ වමනය ගොස් මියැදෙන්න සිදුවීමෙන් වුවත් සියල්ලන්ටම මෙයින් යහපතක්ම වන බවත් උන්වහන්සේ දැක්කා.

එසේම වර්තමානයේ මෙන්ම අනාගතයේත් විශාල පිරිසකට මෙයින් යහපතක් අත්වන බව දිවැසින් දක, භික්ෂු සංඝයා බොහෝ පිරිසක් පිරිවරාගෙන, ඒ ගිනිගෙන දැවෙන ගස ඇති කැළෑ පෙදෙසට උන්වහන්සේ වැඩියා. මෙසේ ගිනිගෙන අතු පතර කඩා වැටෙමින්ද, අහසට ගිනිරොටු නංවමින්ද , කඳ ඇතුලතින් වගේම පිටතිනුත් මහා ගිනි ජාලා විහිදුවමින්ද , මහා හඬ නංවමින් ගස වෙලාගෙන ඇවිලෙන ගිනි ගොඩ දක ඒ පෙනෙන මානයේ නැවතී බිම ඉඳගත්තා. උන්වහන්සේ පසුපසින් පැමිණි ඒ භික්ෂූන් වහන්සේලාත් ඒ ආසන්නයෙන් ඉඳගත්තා.

උන්වහන්සේ ඒ ඉඳගත් භික්ෂූන් වහන්සේලාගෙන් මෙහෙම ප්‍රශ්න කරනවා. මහණෙනි, අර ඉදිරියෙන් මහා ගින්නක් බියකරු ගිනිජාලා දෙපසටත් අහසටත් පිටකරමින්, බියකරු හඬ නංවමින් ඇවිලගෙන ඇති හැටි පෙනෙන්නේද? එසේය ස්වාමීනියි ඔවුන් උත්තර දුන්නා. අන්න ඒ ඇසට පෙනෙන මානයේ වූ ගිනි ජාලාව මාතෘකා කරගෙනයි මේ දේශනය කළේ.

මෙවන් ගින්නක් උපමාවක් වශයෙන් අරගෙන කරන දේශනයක් මගින් සසර දුකින් මිදීමට සාසනයේ පැවිද්දට පත්ව සිටින සියලු පිරිසටත්, අනාගතයේ සාසනයට ඇතුල්වන සියලු දෙනාටමත් මහා ශාන්තියක් උදාවන බව උන් වහන්සේ දැක්කා. එසේම සාසනයේ අනාගත පැවැත්මටත් වටිනා අවවාදයක් ලැබෙන නිසා වැඩිදෙනාගේ යහපත සලකා උන්වහන්සේ මේ දේශනය මේ ආකාරයෙන් සිද්ධ කළා. නමුත් මෙහි පැමිණ සිටි සියලු භික්ෂූන් වහන්සේලාටම මේ දේශනය නිසා යහපතක් සිදුවී ඇති බවක් පිටින් පේන්නෙ නෑ.

මේ දේශනයෙන් අතිමහත් යහපතක් සියල්ලන්ට අත්වන්න ඇතැයි අපි බලාපොරොත්තු වුණත්, විශාල පිරිසකට මහා විනාසයක් සිදුවෙලා

තියෙනව නේද කියල කෙනෙකුට තර්ක කරන්න පුළුවන්. නමුත් එහෙම වෙන්නේ, ඒ දේශනය කරන්න හේතුවුණු අරමුණ විග්‍රහකර නොගැනීම නිසා මිසක් දේශනයේ වැරද්දක් නිසාවත්, වෙනත් හේතුවක් නිසාවත් නෙවෙයි. එසේ කෙනෙකුට සැකයක් උපදින කොටස මෙසේයි.

මේ සූත්‍ර දේශනාවේ හැටියට ඒ **දේශනා අවසානයේ එතැන හිටපු භික්ෂූන් හැට නමක් භය සන්ත්‍රාසයෙන් ඇළලී, කටින් උණු ලේ වගුරුවමින් අපවත් වූ බවත්, එසේම විශාල පිරිසක් සිවුරු හැර සාසනයෙන් ඉවත්ව ගිය බවත්, එසේම බුද්ධ සාසනයට ඇතුලත්වූ කාරණය අමතක නොකළ සීලවන්ත ගුණවන්ත විශාල භික්ෂූන් පිරිසක් මේ දේශනය අවසානයේ අරිහත්වය පූර්ණ කරගෙන සසර දුකින් මිදුන බවත් සඳහන් වෙනවා.**

එහෙනම් පෘතජ්ජන ලෝකයා දන්න විදියට, දකින විදියට සියලු දෙනාටම එකම විදියේ යහපතක් මේ දේශනය නිසා සිදුවී නැති බව පිලිගන්න වෙනවා. ඒවගේම බුද්ධ දේශනාවකින් කුරා කුහුඹුවෙකුටවත් අයහපතක්, හිංසාවක්, පීඩාවක්, අවැඩක් සිදු කරන බලාපොරොත්තුවක් නැත යන්න ඇත්තක් ලෙස පිලිගන්නවනම් , දන් ඒ බුද්ධ වචනය පරම සත්‍යයක් බව පහදා දෙන්න උවමනායි. ඒ නිසා කිසිම කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කරන බලාපොරොත්තුවක් මෙයින් සිද්ධ වෙලා නෑ කියල ධර්මානුකූලව පහදා දීමයි කළ යුත්තේ.

මොකද බුද්ධ වචනයක් නියමාකාරයෙන් පහදා නොදුන්නොත් පෘතජ්ජනවූ මනුස්සයෝ, බුද්ධ දේශනාව ගැන සැක සංකා උපදවාගෙන ආර්ය උපවාදයක් කරගන්නත් පුළුවන්. ඒ නිසා එවැනි ඉඩක් නොලැබෙන විදියට ධර්මයේ සැඟවිලා තියෙන තැන් නිවැරදිව විග්‍රහවෙන්න ඕන.

දේශනාවේදී කියවෙන මේ සිද්ධිය සාමාන්‍ය ලෝකයාගේ ඇසින් විමසා බැලුවොත්, මේ භික්ෂූන් හැට නම ලේ වමනය යාමෙන් මරණයට පත්වීම මහා ඛේදවාචකයක්. ඒ වගේම බොහෝ පිරිසකට සාසනය අහිමි වීමක් සිද්ධ වෙලා තියෙන නිසාත්, බොහෝ දෙනෙකුට අවැඩක් සිද්ධ වෙලා තියෙනවා කියන අදහස පිටින් බැලුවම පේනවා.

ඉතින් විශාල පිරිසකට මරණයත් , තවත් විශාල පිරිසකට සාසනය හැර යන්නත් තරම් අයහපත් ප්‍රතිඵලයක් මෙයින් දීල තියෙන බව පේන්නම තියෙද්දි , නෑ නෑ ඒ අයටත් යහපත් ප්‍රතිඵලයක්ම ලැබුන කියල කවුරුහරි කිව්වොත් පිලිගන්නෙ කොහොමද? බුද්ධ වචනයක් ඇත්තයි කියල පිලිගන්න කෙනෙක් වුනත් උන්වහන්සේගේ දේශනාවේ සැබෑ වචනය නොදන්නව නම්, සැකයක් ඉතිරි කරගන්නවා මිසක් සාධුකාරයක් දීල සතුටු වෙන්නෙ කොහොමද?

ඒ නිසා "බණ නම් තිබොරුය මුනිවරයන්නේ" යන කියමන ඇත්තමයි කියල තම හද පතුලින්ම සනාථ කරගන්න කැමති කෙනෙක්, මේ වගේ සැඟවිලා තියෙන දහම් අර්ථ නිවැරදිව පහදා දෙන්න හැකියාවක් තියෙන උත්තමයෙකුගෙන් නැවත නැවත අසා විමසමින් ධර්මය නිවැරදිව දැනගන්න උත්සාහ කිරීම වැදගත්.

මේ වගේ සැඟවුනු දහම් අරුත් තියෙන කැටි කළ සූත්‍ර දේශනාවකින් බුදු පියාණන් වහන්සේ දුන් අවවාදයේ සත්‍යවූ දහම් අරුත සැක සංකා නැති දහමක් විදියට වටහාගන්න ලැබෙන්නේ අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කියන සිව්පිලිසිඹියාව පහල කරගත් උත්තමයෙකුගේ ධර්ම විග්‍රහයක් ශ්‍රවනය කරන්න ලැබුනොත් පමණයි. බුදුන්වහන්සේ මේ මහා ගින්න පෙන්වල භික්ෂූන්ට මේ වගේ කාරණයක් පහදල දෙනවා.

මේ කාරණය වැටහෙන විදිහට නම්, මේ සම්බුද්ධ සාසනය පවතින්නේ භික්ෂු , භික්ෂුණී උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිස නිසයි. මේ උපාසක උපාසිකා කියන අය බොහොම අමාරුවෙන් දිවි ගැටගසා ගන්න පිරිසක්. ඒවගේම ඔවුන් තමන්ගේ අඹුදරුවන්ට යහපත් හෙට දවසක් බලාපොරොත්තුවෙන්, කැලෑ එළි පෙහෙලි කරමින් , අව් වැසි නොබලා කුඹුරු කෙත්වතු අස්වද්දා සී සා බෝග සිටුවමින් , ඒවායේ පෝෂනයට ජලය රැස් කර ගැනීම සඳහා වැව් පොකුණු, ඇළ වේළි මහා පරිශ්‍රමයකින් සකස් කර ගනිමින් ගොවිතැන් බත් කරනවා. එච්චර දුක් මහන්සි වෙලා මේවා රැස්කරන්නේ තමන්ගේ අඹු දරුවන්ගේ, පවුලේ, පරපුරේ මතු යහපත, දියුණුව සලසා ගැනීම සඳහායි. මේවා නිකම්ම ගෙවල්වලට ලැබෙන්නෙ නෑ. පුංචිම එකාගේ පටන් හැම කෙනාටම මේ සඳහා වෙහෙසෙන්න වෙනවා. පොලොව සකස්කර බීජ සිටවූ දා පටන් වැටකඩොලු සකස් කරගෙන සතුන්ගෙන් ආරක්ෂා කරගන්න ඕන. දිනපතා ජලය සපයමින්, වල්පැල උදුරා දමමින්, පොහොර කරමින් ගොවිපල පවත්වාගෙන යන්න ඕන. කෘමි උවදුරුවලින් තම ගොවිපල ආරක්ෂා කරගන්න නොයෙක් කෙම්පහන් කරමින් දැඩි වෙහෙසක් ගන්න ඕන. ගස් වැල් ලොකු මහත් වෙලා මල් එල ගෙන ගෙඩි කරල් හටගත්දා පටන්, උඩින් වටින් යටින් එන දෙපා සිව්පා ආදී නොයෙක් සතුන්ගෙන් භව භෝග රැකගන්න වෙහෙසෙන්න වෙන්නෙ දහවලට විතරක් නෙවෙයි. උදේ පාන්දර පටන් සවස් වෙන කල් මොන තරම් වෙහෙස මහන්සි වෙලා හිටියත්, රාත්‍රියට නිදිවරා පැල් රැක ගොවිපලට වදින සතුන් පලවා හැරියෙ නැත්නම් එක රැයකින් මුලු ගොවිපලම ඉවර කර සතුන් බඩ පුරවාගෙන යනවා. ඒ සියල්ල මහා දුකක් දීගෙන අවසන් වෙන්න සුළු ප්‍රමාදයක් ඇති. ඒ සුළු ප්‍රමාදය නිසා පවුලේ සියලු දෙනාටම කුසගින්නෙ ඉන්න වෙනවා. අනුන්ට අතපාන්න වෙනවා. ඒ විතරක්ද? පරෙස්සම් නොවුනොත් තමන් ආසන්නයේම ඉන්න දෙපා සොරා තමන්ගේ ඇස් වසා සියල්ල සොරාගෙන අවසන් කරන්නේ අනුකම්පා විරහිතවයි. මේ තරම් මහා දුක් කන්දරාවක් විඳිමින් මේ සියල්ල කරන්නේ අඹු දරුවන්ගේ යහපත් හෙට දවසක් වෙනුවෙන්. ඒ නිසා කොච්චර පුංචි වුනත් වී ඇටයක්, මුං ඇටයක්, මිරිස් කරලක් වගේ දෙයක්වත් අපතේ හරිනවට, නිස්කාරණේ විය පැහැදම් වෙනවට, විනාස වෙනවට ඒ මහන්සි වෙන ගොවියා කැමති නෑ. ඒ වගේම අනුන්ට අතපාමින් අනුන්ගෙන්ම යැපෙන්න හිතන, අත පය හතර හොඳට තියෙන කම්මැලි මිනිස්සුන්ට, තමන්ගේ භව භෝග ටික ආහාර ටික දන් දීල තමන්ගේ දරු පවුල කුසගින්නේ තියන්නත් ඒ ගොවියා කැමති වෙන්නෙ නෑ.

ගොවිතැන් කරන්නා පමණක් නෙවෙයි , වෙළහෙළඳාම් කරන්නාත් , කිරි වෙඬරු සඳහා ගව මහීශාදීන් ඇති කරන්නාත් , කම්මලේ මහා වෙහෙසකින් යකඩ තලා ආයුධ හදල දීල ගොවියාගේ අස්වැන්නෙන් ධාන්‍ය ටිකක් ලබාගෙන ජීවිතය රැකගන්නාත්, කුඹල් වැඩෙන් ජීවිකාව සඳහා ආහාර රැස්කර ගන්නාත් ආදී සියලු දෙනාම තමන්ගේ කැම ටික තමන්ගේ දරු පවුල වෙනුවෙන් අපතේ නොයවා පරිස්සම් කරගන්නවා. මේ සියලු මනුස්සයෝ මහා වෙහෙසක් ගෙන දිවා රාත්‍රී නිදි වරා ගෙන යම් ධනයක් හරි හම්බ කරන්නේ, තමන්ගේ අඹු දරුවන් නෑදැයින් පෝෂණය කරමින් යහපත් හෙට දිනයක් දුකින් තොරව පවත්වාගෙන යන්නයි.

නමුත් මේ තරම් වෙහෙස මහන්සි වෙලා තම පවුලේ කුසගින්න නිවීම සඳහා ආහාර ටික රැස් කර සුරක්ෂිත කරගෙන අරපිරිමැස්මෙන් කටයුතු කරන ගොවියෙක්, කුඹල්කරුවෙක් හෝ කර්මාන්ත කරුවෙක්, බුදුකෙනෙකුගේ ධර්මයක් අහල හෝ බුදුකෙනෙක් පහල වෙලා කියන වචන මාත්‍රය අහල,

උන්වහන්සේ මහා උත්තමයෙක් කියන ආරාංචියට සාසනය කෙරෙහි යම් ශ්‍රද්ධාවක් ඇති කරගත්තොත්, එදා පටන් ඒ මනුස්සයා කොහොමද හැසිරෙන්නෙ?

ඔහු බොහොම දුක් විඳල තමයි පවුලේ වසරක ආහාර ටික සපය ගත්තෙ. නමුත් ඒ රැස්කරගත් ආහාර ටික අරපරිස්සමින් රැකගත්තේ ඊලඟ අස්වනු නෙළන තෙක්, එළඹෙන්න තියෙන නියං කාලය පසුවන තෙක්, මහා වැසි සමය අවසන් වෙන තෙක් තමන්ගේ අඹු දරුවන්ගේ බඩ ගින්දර නිවාලන අදහසින්. ඒ තියෙන සීමිත ආහාර ටික නිකරුනේ නැති නාස්ති වුනොත් පවුලේ සැමට කුසගින්නේ ඉන්න වෙනවා කියන කාරණය දන්න නිසා අපතේ යන්න නොදී ඒවා රැකගන්නවා.

නමුත් මොන කාලයක වුනත් සසර බය දැකලා නිවන් අවබෝධ කරගන්නා බලාපොරොත්තුවෙන් පැවිදිවෙන සියලු පිංවත් පිරිස, අඹුදරු දෙමාපියන් ඥාති මිත්‍රාදීන් වෙත කෙරෙන්න තියෙන ලෞකික යුතුකම්වලට වඩා ලෝකෝත්තර සුවයට නැඹුරු වෙලා, අනුන් ගැනත්, ඔවුන් කරන ලද උපකාරවලට ප්‍රති උපකාර ලෙස ඔවුන්ටත් නිවනට මග පාද දෙමින් තමන්ගේ විමුක්තිය සලසා ගැනීම සඳහා මේ සාසනයට ඇතුල් වෙනවා. එදින පටන් උන්වහන්සේලා ජීවිතය රැකගන්න කුසගිනි නිවාගන්න, දවසේ ආහාරය උපයා සපයා ගන්නෙ කොහොමද? පෙර මෙන් උන්වහන්සේලාගේ දේපල ඉඩකඩම්වලින් ලැබෙන ආදායමෙන්ද? නැත්නම් ඥාතීන්ගෙන් තමන්ගෙකමට දෙනු ලබන ආහාරයකින්ද? නෑ. තමන්ට කිසිම සම්බන්ධයක් නැති කෙනෙක් දුන්න ආහාරයකින්. ඒක ලැබුනෙත් අර වගේ දුක් මහන්සියෙන් රැස්කරගෙන, අරපරෙස්සම් කරගෙන ඒ පිංවතුන්ට විතරක් උයා පිහා ගත්ත ගෙදරක දොරපිලකට පාත්‍රයක් අරගෙන පිණ්ඩපාතෙ ගිහින්.

සමහරවිට ඒ ගෙදර ස්වාමි දියණිය උදේට තමන්ට, දරුවන්ට කන්න එහෙම නැත්නම් හේනට කුඹුරට හෝ කුලී වැඩකට යන්න සූදානම් වන පුරුෂයාට උදේට කන්නත්, දහවලට ගෙනියන්නත් පාන්දර නිදිවරල සකස් කරපු රොටි කිහිපය ඒ ගෙදර අය ගිල දමන්නත් පෙර, පිණ්ඩපාතෙ වඩින භික්ෂූන් පෙලක් පාත්තරේ විවෘත කරගෙන ගෙයි ඉස්සරහ වැඩ ඉන්නව දකිනවා. තමන්ගේ ආහාරය මොනතරම් අර පරෙස්සම් කළත්, තම දරුවන් කුසගින්නේ හිටියත්, මේ සාසනය කෙරෙහි පැහැදුනු ශ්‍රද්ධාව නිසා තමන් කන්න හදාගත්ත ඒ දුප්පත් ආහාර වේල බුදු ගුණ අනන්ත බව දැනගෙන, උන් වහන්සේගේ සාසනයේ මුර දේවතාවන් වූ භික්ෂු සංඝයාට පූජා කරල තමන් කුසගින්නේ ඉන්නවා.

මේ වගේ දේවල් වෙන්නෙ එදා උදේ විතරද? ඒ වෙලාවෙ විතරද? උදේ කෑම ටික දනට දීල හිතට කිසිම දුකක්, ලෝබ කමක් නැතිව හරියට සන්තෝස වෙනවා. ඒ සතුට දරාගෙන තමන් වෙරළු ගෙඩියක්, පේර ගෙඩියක් කාල හරි ඇල් වතුරින් බඩ පුරව ගන්නවා. තමන් බඩගින්නේ හිටියත් බුද්ධ සාසනයට දනක් දෙන්න ලැබීම ගැන ගෙදර සියල්ලෝම මහා ප්‍රසාදයකින් ඉන්නෙ. එහෙම ශ්‍රද්ධාවක් තියෙන මේ උපාසක උපාසිකාවෝ දවල් ආහාරයෙන්වත් ගෙදර අයගේ කුසගිනි නිවාගන්න හිතාගෙන උයා පිහාගන්නවා. නමුත් ඒ සීමිත ආහාර ටිකවත් පුරුෂයාට හෝ දරුවන්ට බෙදල දෙන්න පෙර භික්ෂූන් වහන්සේලා පෙලක් ඉර හැරෙන්නත් පළමුව වෙනත් පැත්තකින් ඇවිත් ගේ ඉස්සරහ පිණ්ඩපාත කරනවා.

උදේ ඉඳල කුසගින්නෙ හිටපු මේ මිනිස්සු, අනේ අපිට අදනම් මහා වාසනාවන්ත දවසක් උදාවෙලා කියල, මහා චිත්ත ප්‍රසාදයක් ඇති කරගෙන ඒ ආහාර ටිකත් මේ බුද්ධ සාසනයේ භික්ෂු භික්ෂුණීන් උදෙසා පූජා කරල, නිවන් දකින්න අපටත් වාසනාව ලැබේවා කියල ඒ දානයේ බලයෙන් මහා ප්‍රාර්ථනාවකුත් කරනවා. මේ ආකාර අසීමිත ශ්‍රද්ධාවක් මේ සාසනය කෙරෙහි ඇතිකරගත් උපාසක උපාසිකාවන් සිටින නිසයි, පෙර දවස මේ දැහැමි සමාජය රැකුනෙත්, වර්තමානයේ රැකෙන්නෙත්, අනාගතයේ පිංවත් දැහැමි සමාජයක් පවතින්නෙත්.

ඒවගේම මේ විදියට බුදුන් ප්‍රමුඛ මහා සංඝරත්නය කෙරෙහි අචල ශ්‍රද්ධාවක් ඔවුන්ගේ හද පත්ලේ තැන්පත් වෙන්නෙ, ඒ අයට ගෝචර වෙන බුදුන් ප්‍රමුඛ මහා සංඝ රත්නය තුල පවතින යම් යම් අසම සම සත්‍ය ගුණයන් අහන්නත්, දකින්නත් ලැබෙන නිසයි. මොනවද ඒ සත්‍ය කාරණා?

අපේ සම්මා සම්බුදු පියාණන් වහන්සේ අනුගමනය කරන්නාවූ ආර්ය මහා සංඝ රත්නය, උන්වහන්සේ පෙන්වා වදාල සසර දුක, සසර භය දැක එයින් මිදීම සඳහා තම දෙමාපියන්, බිරින්දෑවරුන්, දරුමල්ලන්, ගේ දොර ඉඩකඩම්, මිල මුදල්, යාන වාහන සියල්ල අත් හැරල මේ සාසනයට ඇතුලත් වෙච්ච උදවියයි. උන් වහන්සේලා තම කැමැත්තෙන්ම තමන්ගේම විමුක්තිය පතාගෙන බුදු පියාණන් දේශනාකොට වදාල ආර්ය මාර්ගයේ ගමන් කරනවා. ඒවගේම උන්වහන්සේලා නිවන සඳහා අපිස් (අල්පේච්ඡ) ජීවිතයක්ම අගය කරමින් බුදුන් අනුදැන වදාල පරිදි හැසිරෙනවා. ඒ අල්පේච්ච නිදහස් ජීවිතය ගත කිරීම සඳහා ගස් යට, ගල් යට, කැලෑ තුළ හෝ සැදැහැවතුන් පූජා කළ ආරාමවල වැඩ වාසය කරමින් නිදහස් සැහැල්ලු ජීවිතයක් ගත කරනවා. උන්වහන්සේලා කුසගිනි නිවීම සඳහා පමණක්, ගම් දනව්වල පිඩු සිඟා යමින් ලැබෙන කුමන හෝ ආහාරයක් පමණ දැන වළඳනවා. මෙසේ ලැබෙන ස්වල්ප ආහාරය පවා ප්‍රත්‍යවේක්ෂාවෙන් වළඳන උන් වහන්සේලා, නිවන් දකින්නම ඇප කැප වෙමින් මේ සාසනයේ පැවිදිව වාසය කරනවා. ඒ වගේම උන් වහන්සේලා කිසිම ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් බලාපොරොත්තුවෙන් මේ සාසන චීවරය දරන්නෙ නෑ කියලත් මේ සැදැහැවත් උපාසක උපාසිකාවන්ට විස්වාසයක් තියෙනවා. මේ හේතු නිසයි, තම දිවි රැක ගන්න තියෙන ආහාර ටික පවා කිසිම ලෝභයක් නැතිව මහා ශ්‍රද්ධාවකින් සාසනය උදෙසා දන් දෙන්නේ. ඒවගේම ඒක මහත්ඵල මහානිසංස ලැබෙන පිනක් බව ඒ පිංවතුන් විස්වාස කරනවා.

ඒ වගේම උන්වහන්සේලා කුසගිනි නිවාගන්න, එවෙලේ ලැබෙන මොන ආහාරයක් හෝ ගන්නවා මිසක්, ඇතිවෙන්න වළඳල ඉතිරිවෙන ටික යනකොට ගෙනියන්නවත්, පසුව වළඳන්න තියාගන්නවත්, අල්ලපු ගෙදර ඉන්න ළමයින්ට ගෙනිහින් දෙන්නවත්, මේ බුද්ධ සාසනයේ දෙන දානය පරිහරණය කරන්නෙ නෑ කියලත් ඔවුන් විස්වාස කරනවා.

ඒ වගේම අපි මොනතරම් ප්‍රනීතව රසමසවුලෙන් යුක්තව දානය සකස්කර පිරි නැමුවත්, උන්වහන්සේලා තම ජීවිතය පවත්වාගෙන යන්න අවශ්‍ය පමණට මිසක් බඩජාරි කමට උගුරට එනකල් ආහාර ගන්නෙ නෑ කියලත් ඔවුන් විස්වාස කරනවා. ඒ නිසාම සාසනයට ඇතුල් වෙච්ච දා පටන් මහා ගුණ සමුදායක් රකිමින් සිටින බුද්ධ පුත්‍රයින් වහන්සේලා, අපි ආහාර ගන්න වෙලාවක පිඩු සිඟා ආවොත් තමන්ට ඇති හැකි අයුරින් සූදානම් කරල දනක් දෙන්න ලැබීම සංසාරේ කවදා හෝ නිවන් අවබෝධ වෙන වාසනාවක් විදියටයි ඒ අය සලකන්නේ. ඒවගේම අන්ත අසරණව කුසගින්නේ ඉන්න සැදැහැ සිත් ඇති දුප්පතෙක් වුනත් දින ගාණකට පස්සෙ තමන්ට හිඟමනෙන් ලැබුන එකම රොටිය බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා උදෙසා සතුටු සිතින්

27 වෙනි පිටුවට...

# සත්කාය දිට්ඨිය කියන්නේ කාය සත් යන දිට්ඨියද, මමය මාගේය යන දිට්ඨියද?

මේ මාතෘකාව බොහෝ අයගේ වික්ෂිප්තතාවයට, සැකයට හේතු වෙලා තියෙනවා. සත්කාය දෘෂ්ඨිය ලෙසින් බොහෝ අය හිතාගෙන ඉන්නෙ මමය, මාගේය කියන යන දෘෂ්ඨියයි. මේක එහෙමද කියල විමර්ෂනය කරල බලමු. මජ්ඃනිඃ (3) 118 පිටුවේ එන මහා පුණ්ණම සූත්‍රයේ සත්කාය දෘෂ්ඨිය ඇතිවෙන්නෙ කොහොමද කියල විස්තර කරල තියෙනවා. ''කතං පනභන්තේ සත්කාය දිට්ඨි හෝතීති'' වහන්ස යලි කෙසේ සත්කාය දිට්ඨිය වේද? ඉධ භික්ඛු අස්සුතවා පුතුජ්ජනෝ අරියානං අදස්සාවී අරිය ධම්මස්ස..... මේ කාරණා හතර රූපය පිළිබඳ විස්තර කරල තියෙනවා. මේක සිංහලයට පරිවර්තනය කරල තියෙන ආකාරය බැලුවම මේකෙ වරද හොයාගන්න පුළුවන්. රූපං අත්තතෝ සමනුපස්සති යන්නට දී ඇති සිංහල තේරුම, රූපය ආත්ම වශයෙන් දකී ලෙසත්, රූප වන්තං වා අත්තානං යන්නට රූපවත් ආත්මය වශයෙන් දකී ලෙසත්, අත්තනී වා රූපං යන්නට ආත්මයෙහි රූපය වශයෙන් දකී ලෙසත්, රූපස්මිං වා අත්තානං යන්නට රූපයෙහි ආත්මය වශයෙන් දකී ලෙසත් පරිවර්තනය කර තියෙනවා.

මේ පරිවර්තනය නිසා ආත්මය කියන වචනය අල්ලගෙන දෘෂ්ඨිගත වෙලයි ඉන්නෙ. රූපය, වේදනාව, සංඥාව, සංඛාරය, විඤ්ඤාණය ආත්මය ලෙස දකී කියනවා. අපි කවුරුවත් එහෙම දකිනවද? එහෙම එකක් නෑ නේද? ඉතා පැහැදිලිව බුදුරජාණන් වහන්සේ මජ්ඃනිඃ (1) 18 පිටුවේ එන සබ්බාසව සූත්‍රයේ ආත්මය ගැන විස්තර කරල තියෙනවා. "නුනුවණින් මෙනෙහි කරන ඔහුට සවැදෑරුම් දෘෂ්ඨීන් අතරින් එක්තරා දෘෂ්ඨියක් උපදී. මගේ ආත්මය ඇතැයි සත්‍ය වශයෙන් ස්ථිර වශයෙන් ඔහුට දෘෂ්ඨි උපදී. මගේ ආත්මය නැතැයි සත්‍ය වශයෙන් ස්ථිර වශයෙන් ඔහුට දෘෂ්ඨි උපදී." ආත්මය ගැන මේ විදිහටයි කියල තියෙන්නෙ. **මගේ ආත්මය ඇතැයි කියල හිතනව නම් ඒක දෘෂ්ඨියක්. මගේ ආත්මය නැතැයි කියල ගන්නව නම් ඒකත් දෘෂ්ඨියක්.** එහෙනම් මේ ආත්මය ඇත හෝ නැත කියන ප්‍රශ්නයට මැදිවෙලා කටයුතු කරන්න ගියොත් දෘෂ්ඨි ගත වෙනවා. වැරදි දෘෂ්ඨියකට එළඹෙනවා. ඒ කියන්නෙ ආත්මය ඇත හෝ නැත කියන සංකල්පයෙන් බැහැර වෙලා සත්කාය දිට්ඨිය කියන එක තේරුම් ගන්න උත්සාහ කළ යුතුයි.



එහෙනම් ආත්මයක් ගාව ගත්ත එකේ වරදක් තියෙනවා. රූපං අත්තතෝ සමනුපස්සති කියන එකට දෙන්න පුළුවන් ගැලපෙන අර්ථය මොකද්ද බලමු. අත්ත කියන එකට තේරුම් කීපයක් තියෙනවා. **ආත්මයටත් අත්ත කියල යොදල තියෙනවා.** එහෙම යොදල තියෙන්නේ බමුණන්ගේ ආත්ම සංකල්පය විග්‍රහ කරල පෙන්වන තැන්වලයි. මම කියන එකටත් අත්ත කියල යොදල තියෙනව. අත්තාහි අත්ත නෝ නත්තෝ - තමාට තමාවත් නැති කල්හි... ආදී වශයෙන් ධම්ම පදයේ ගාථාවක් තියෙනවා. **එහෙනම් තමා කියන අර්ථයෙන් අත්ත කියල යොදල තියෙනවා.** තවදුරටත් බැලුවොත් පෙර ලිපිවලත් පැහැදිලි කළා, අසාරකට්ඨේන අනත්තා කියල. **අසාර යන අර්ථයෙන් අනත්තා කියල කියනවා. එහෙනම් අත්තා වෙන්නෙ සාරයි කියන එකයි.** මේ ආකාරයට බැලුවම අත්තා කියන එකට පැහැදිලි වශයෙන් අර්ථ තුනක් දෙනවා.

මේ පංචස්කන්ධය පංච උපාදානස්කන්ධයක් බවට පත්වෙන කොට, මේක සත් වශයෙන් ගත්ත නිසා, හොඳයි කියල ගත්ත නිසා, ආස්වාද ජනක දෙයක් විදිහට ගත්ත නිසා තමයි පංචස්කන්ධය තුලින් ඡන්ද රාගයක් උපදින්නෙ. මේ ඡන්ද රාගය ඉපදුනාම තමයි පංචස්කන්ධය පංච උපාදානස්කන්ධයක් බවට පත්වෙන්නේ. ප්‍රශ්නය තියෙන්නෙ පංචස්කන්ධයත් එක්ක නෙවෙයි. පංච උපාදානස්කන්ධයක් හදාගන්න එකයි. ආස්වාද සඳහා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ එක්ක බැඳෙනකොට පංච උපාදානස්කන්ධය නිර්මාණය වෙනවා. භවයේ, සසරේ තව දුරටත් සැරිසැරීම සඳහා මේ පංචස්කන්ධයෙන් ලබාදෙන ආස්වාද නිසා මේක නැවත නැවත ප්‍රාර්ථනා කරනවා. නැවත නැවත බලාපොරොත්තු වෙනවා. මේ විදිහට පංචස්කන්ධය කෙරෙහි උපාදානයක් ගොඩනගා ගන්නවා. ඒක තමයි පංච උපාදානස්කන්ධය කියල කියන්නේ. පංච උපාදානස්කන්ධයක් ගොඩනැගීම සඳහා අවශ්‍ය කාරණය තමයි පංචස්කන්ධය හොඳයි, එහෙම නැත්නම් සත් කියන අදහසින් ගන්න එක. එහෙම ගන්නෙ ආස්වාද දීපු නිසා. පංචස්කන්ධය පිළිබඳ සත් කියන හැඟීම අපි තුළ තියෙනව නම්, පංච උපාදානස්කන්ධයක් ගොඩනැගෙනවා. රූපය, වේදනාව, සංඥාව, සංඛාරය, විඤ්ඤාණය කියන ඒවා ගොඩවල් ලෙස ගොඩනගා ගත් පංචස්කන්ධය තමයි අපිට ආස්වාද ගෙන දෙන්නේ. ආස්වාද කියන එක හරියට තේරුම් ගත්තෙ නැත්නම් ආස්වාදයේ ආදීනවය හරිහැටි තේරුම් ගන්න බැරි වෙනවා. මේ ආස්වාද ලබාදෙන පංචස්කන්ධය හරි වටින දෙයක්, සාරවත් දෙයක්, හොඳ දෙයක් විදිහට දකිනවා. මේකටයි සත් කියන වචනය පාවිච්චි කරන්නෙ. රූපය සත් කියල හිතනවා. වේදනාව සත් කියල හිතනවා. ''සත්පුරුෂයා, සත්භාවයෙන්මයි මම මේ වැඩේ කළේ''... ආදී වශයෙන් සත් කියන අදහස ගන්න හැටි පෙර ලිපිවලත් විස්තර කළා. එහෙනම් සත් කියනකොට

හොඳයි කියල හිතන දෙයක් සිද්ධ වෙන්න ඕන. ලෞකික ජීවිතයේදී පෘතජ්ජනයන් ආස්වාද ලැබෙන එක හොඳ දෙයක් හැටියටයි දකින්නේ. ආස්වාදයේ ආදීනව දැක්කමයි ආස්වාදය හොඳ දෙයක් නෙවෙයි කියල තේරෙන්නෙ. එහෙනම් ආස්වාදය ලබා දීපු පංචස්කන්ධයත් හොඳ දෙයක් නෙවෙයි කියල දකින්න ඕන. පංචස්කන්ධය ආස්වාද ගෙන දෙන නිසා ඒක හොඳයි, සත් සාරවත් කියල දකින තාක් කල් පංචස්කන්ධය පිළිබඳ නැවත නැවත බලාපොරොත්තු ඇතිකර ගන්නවා. මේකට තමයි පංචස්කන්ධය උපාදාන කරගන්නව කියල කියන්නේ.

මේ නිසාම තමයි නැවතත් අපි පංචස්කන්ධයක් ඊළඟ අත්බවයෙදි ගොඩනගා ගන්නේ. මේ පංචස්කන්ධය ගොඩනැගීම දිගින් දිගටම සිද්ධ වෙනවා. අපේ නැවත උප්පත්තියට හේතු වුනේ මේ පංචස්කන්ධය සත් කියල ගත්තු අදහසයි. අපි පංචස්කන්ධයට කාය කියන වචනය, සබ්බ කාය කියන වචනය පාවිච්චි කරනවා. එහෙනම් පංචස්කන්ධය කියල කිව්වෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ගොඩවල් එකක් ලෙස උපකල්පනය කළ මේ පංචස්කන්ධයට. මේක හොඳයි කියල ගත්තොත්, සත් හෙවත් සාරවත් කියල ගත්තොත් සත්කාය දෘෂ්ටිය අපි ළඟ තියෙනවා. යම් කිසි දවසක මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන කොටස්, රූපය සත් නොවේ, වේදනාව සත් නොවේ, සංඥා, සංඛාර, විඤ්ඤාණ සත් නොවේ කියන, නැත්නම් අසත් කියන අදහසට පැමිණියොත් සබ්බ කාය හෙවත් පංචස්කන්ධය අසත් දෙයක්, අසාර දෙයක් විදිහට දකිනවා. පංචස්කන්ධය අසාර දෙයක් විදිහට දැක්කම තමයි ඒක නැවත බලාපොරොත්තු නොවෙන තැනට කටයුතු කරන්නෙ. පංචස්කන්ධය පිළිබඳ උපාදානය ඉවත් වෙන්නේ ඒක හොඳ නැති දෙයක්, අසාර දෙයක් හැටියට දැක්කම. ඒක පංචස්කන්ධය තුළ ආත්මයක් තියෙනවද නැද්ද කියන තර්කයෙන් එන දෙයක් නෙවෙයි. පංචස්කන්ධය පිළිබඳ උපාදානය අයින් වෙන්නෙ, පංචස්කන්ධය අසත් කියල දැකීමෙන්ද, පංචස්කන්ධය ආත්මය වශයෙන් නොදකියි කියන එකෙන්ද කියල කල්පනා කරල බලන්න. අසත් කිව්වෙ අසාර කියන එක. මේ කාරණය කාට වුනත් ලේසියෙන් තේරුම් ගන්න පුළුවන්.

එහෙනම් දැන් අපට පැහැදිලි වෙනවා රූපං අත්තතෝ සමනුපස්සති කියන මේ පාඨයෙන් කියවෙන අත්ත කියන පදයට ගන්න තේරුම වෙන්නෙ, අර්ථවත් හෙවත් සාරවත් කියල. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ සාරවත් දේවල් විදිහටයි ගන්නෙ. මොකද ඒවායින් ආස්වාද දෙන නිසා. මෙහෙම හිතුවම තමයි සත් කාය දිට්ඨිය ඇතිවෙන්නෙ. කාය කියල කිව්වෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ගොඩවල් එකක් එකක් ලෙස උපකල්පනය කර ගොඩනගා ගත් සබ්බ කායට. මේක හොඳයි එහෙම නැත්නම් සාරවත් කියල හිතෙන්නෙ රූපය, වේදනාව, සංඥාව, සංඛාරය, විඤ්ඤාණය කියන පහම සාරවත් කියල හිතුවම. දැන් කාටත් පැහැදිලි වෙන්න ඕන රූපයේ ආත්මයක් ඇත කියල ගන්න එකෙන් නෙවෙයි සක්කාය දිට්ඨිය ඇතිවෙන්නෙ, රූපය සාරයි කියල ගන්න එකෙන් තමයි පංච උපාදානස්කන්ධයක් ගොඩනැගෙන්නෙ, එහෙම නැත්නම් සත් කාය කියන එක ගොඩනැගෙන්නෙ කියන කාරණය. සත්කාය දෘෂ්ටිය කිව්වෙ මේ පංචස්කන්ධය සත් කියල හෙවත් මේ සබ්බ කාය සත් කියල ගත්ත දෘෂ්ඨිය.

ලෝකය පිළිබඳව අනිච්ච, දුක්ඛ , අනත්ත තේරුම් ගත්තම රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන කොටස් හෙවත් පංචස්කන්ධය අනිච්ච, දුක්ඛ, අසාර වශයෙන් දකිනවා. එහෙම දකිනකොට තමයි කාය සත් කියන දෘෂ්ඨිය අයින් වෙන්නෙ. <u>සීල සූත්‍රයේ</u> සෝවාන් වීම සඳහා පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දැකිය යුතුයි කියල කිව්වෙ ඒකයි. එහෙම නැතිව අනාත්ම වශයෙන් ආත්මයක් නෑ කියල දකින එකෙන් නෙවෙයි ඒ අදහස එන්නේ. ඒක හොඳයි කියන අදහසින් ඉවත් වෙන්න ඕන. සබ්බ කාය හොඳයි කියල හිතන තාක් කල් එය නැවත නැවත ප්‍රාර්ථනා කරමින් සසරට අවශ්‍ය උපාදානය ගොඩනැගෙනවා.

මහා පුණ්නම සූත්‍රයේ එක කොටසක විස්තර කරනවා, අහංකාර මානය මමංකාර තෘෂ්ණාව යන අනුශය ධර්මයෝ කෙසේ ඇති නොවෙත්ද කියල. සත්කාය දිට්ඨිය ඇති නොවන්නේ කෙසේද කියල තවත් විදිහකට විස්තර කරනවා. එහෙනම් අහංකාර සහ මමංකාර කියන්නෙ මමත්වය. මමත්වය කෙසේ ඇති නොවේද කියන එක වෙනම පැත්තක්. සත්කාය දෘෂ්ඨිය කෙසේ ඇති නොවේද කියන එක තවත් පැත්තක්. මේ විෂය දෙක වෙන වෙනම හඳුනගන්න ඕන. නමුත් අදත් සත්කාය දිට්ඨිය ඇති වෙන්නෙ කොහොමද කියන එක මමය, මාගේය කියන දෘෂ්ඨියත් එක්ක පටලවාගෙන. මේක පැහැදිලි ලෙස මහා පුණ්නම සූත්‍රයේ කොටස් දෙකකට විස්තර වෙනවා. "වහන්ස, යලි කී සෙයින් දන්නාහට දක්නාහට මේ සවිඤ්ඤාණක කයෙහිද මෙර මාගේ සවිඤ්ඤාණක කයෙහි හා අනින්ද්‍රිය (ඉන්ද්‍රිය නොවන බාහිර රූප, ශබ්ද, ගන්ධ, ද්‍රව්‍ය වස්තු ආදිය) බද්ධයෙහිද අහංකාර මානය මමංකාර තෘෂ්ණාව යන අනුශය ධර්මයෝ නොවෙත්ද? මෙහි සරල තේරුම මගේ කයේ හෝ පිට කෙනෙකුගේ කයේ හෝ දේවල්වල අහංකාර, එනම් මමය කියන හැඟීම හෝ මමංකාර මගේය කියන හැඟීම හෝ ඇති වෙන්නෙ කොහොමද කියලයි. ඒකට වෙනම විදිහක් විස්තර කරල තියෙනවා. මමය කියන හැඟීම හෝ මගේය කියන හැඟීම නැතිකර ගන්න නම් වෙනම ක්‍රමවේදයක් මේ විදිහට විස්තර කරල තියෙනවා.

"මහණ, අධ්‍යාත්මික වූද, බාහිර වූද, ඖලාරික වූද, සූක්ෂම වූද, හීන වූද, ප්‍රනීත වූද, අතීත අනාගත පච්චුප්පන්න වූද, යම් රූපයෙක් ඇත්ද, දුර හෝ සමීපයේ හෝ යම් රූපයෙක් ඇත්ද ඒ රූපය මාගේ නොවෙයි, තෙල මම නොවෙමි, තෙල මාගේ ආත්මය (සාරත්වය) නොවේ යැයි මෙසේ තෙල රූපයේ යථා ස්වභාවයෙන් විදර්ශනා ප්‍රඥාවෙන් දකී" ලෙස සිංහලෙන් විස්තර කරල තියෙනවා. සං:නි: (4) <u>අජ්ජානිච්ච සූත්‍රයේ</u> විස්තර කරපු දේමයි මෙතනත් කියල තියෙන්නේ. "චක්ඛුං භික්ඛවේ අනිච්චං යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්තා. යද නත්තා තං නේතං මම නේතෝ හමස්මි න මේසෝ අත්තාති" යන විස්තරේ තමයි මෙතනත් තියෙන්නේ. ඔය පාඨයේ අවසාන කොටසේ එන යමක් අනිච්චනම් ඒක දුකයි, යමක් අනිච්චනම් දුකනම් ඒක අසාරයි කියල දැනගත්තට පස්සෙ ඒක දුක උපදවන සුළුයි, ඒක මම , මගේ වශයෙන් ගන්න, මගේ ආත්මය (සාරත්වය) වශයෙන් ගන්න වටින්නෙ නෑ කියන දැක්මට අපි එන්න ඕන. ඒක තමයි මහා පුණ්නම සූත්‍රයේ තියෙන්නේ.

මමත්වය හෙවත් මමය, මාගේය යන හැඟීම නැතිකරගන්න මොකක්ද කරන්න ඕන කියල බුදුපියාණන් වහන්සේගෙන් ඇහුවම උන්වහන්සේ කියනව, යම් තාක් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ඇත්නම් ඒ එකකවත් මගේ රූපය කියල එකක් නෑ, මම නෙවෙයි, මගේ ආත්මය නෙවෙයි කියල මේ විදිහට සම්මා නුවණින් දකින්න කියල. එතකොට මම කියන හැඟීම, මගේ කියන හැඟීම අයින් වෙනවා. මෙතනදි විශේෂයෙන්ම පෙන්වන්න උවමනා වුනේ සත්කාය දිට්ඨිය නැතිකර ගැනීම සඳහා වෙනම ක්‍රමවේදයකුත්, මමය මගේය කියන දෘෂ්ඨිය නැතිකර ගැනීම සඳහා වෙනම ක්‍රමවේදයකුත් තියෙන බව පෙන්වන්නයි. මෙයින් පැහැදිලි වෙන්නෙ සත්කාය දිට්ඨිය කියන එක වෙනම විෂයක්, මමය මගේය කියන හැඟීම වෙනම විෂයක් බවයි. මේක පටලවාගෙන තමයි සමහරු මේ දෙකම එකක් විදිහට දකින්නේ. ☞

මජ්ඣිම: (1) චූල්ලවේදල්ල සූත්‍රයේ සත්කාය සත්කාය වශයෙන් හඳුන්වන්නේ මොකක්ද කියල ප්‍රශ්නයක් අහනවා. මෙහිදී බුදුපියාණන් වහන්සේ පංච උපාදානස්කන්ධය සත්කාය වශයෙන් හඳුන්වල තියෙන බව ධම්මදින්නා තෙරණිය ප්‍රකාශ කරල තියෙනවා. පංචස්කන්ධය කෙරෙහි යම් ඡන්දරාගයක් ගොඩනැගෙනවනම් පංචස්කන්ධය පංච උපාදානස්කන්ධයක් බවට පත්වෙනවා. එතනදිත් පැහැදිලි වෙනවා ආත්මයක් ගැනවත්, මමය මාගේය කියන හැඟීමක් ගැනවත් නෙවෙයි, පංචස්කන්ධය කෙරෙහි යම් ඡන්ද රාගයක් කැමැත්තක් ගොඩනගා ගත්තම, එනම් සත් කියන හැඟීම ගොඩනගා ගත්තම ඒක පංච උපාදානස්කන්ධය බවට පත්වෙනවා කියන කාරණය. මේ විදිහට පංචස්කන්ධ හා පංච උපාදානස්කන්ධ අතර වෙනස පැහැදිලිව තේරුම් ගන්න ඕන.

මේ ස්කන්ධ පහ හෙවත් පංචස්කන්ධය අපි කාටත් පිහිටල තියෙනවා. ඒක රහතන් වහන්සේටත් පිහිටල තියෙනවා. හැබැයි රහතන් වහන්සේ, මේ ස්කන්ධ මාත්‍රයක් කැටි කරල උපකල්පනය කර ගොඩනගා ගත් ඒවා බව දන්නවා. ඒ අවබෝධය උන්වහන්සේට පූර්ණයි. එහෙනම් අපෙත් රහතන්වහන්සේගෙත් වෙනස මොකක්ද? පෘතජ්ජනයින් මේ ගොඩවල් එකක් එකක් ලෙස උපකල්පනය කර ගොඩනගා ගත් ස්කන්ධ පහෙන් ආස්වාද විඳිනවා. නැවත නැවත ඒ ආස්වාද බලාපොරොත්තු වෙනවා. එනම් මේ පංචස්කන්ධය කෙරෙහි යම් උපාදානයක් ඇතිකරගන්නවා. එහෙනම් කාය සත් යන අදහස නිසාමයි, පංචස්කන්ධය පංච උපාදානස්කන්ධය බවට පත්වෙන්නේ. සෝවාන් ඵලයට පත්වන අවස්ථාවේදී කාය සත් යන දෘෂ්ටියෙන් ඉවත් වෙනවා, පංචස්කන්ධය සත් හෙවත් හොඳ දෙයක් වශයෙන් දැක දැක හිටපු දෘෂ්ටියෙන් ඉවත් වෙනවා. එතකොට තේරුම් ගන්නවා මට ආස්වාද දීපු නිසා මෙතෙක් කල් හොඳයි කියල, සත් කියල හිතාගෙන හිටිය මේ පංචස්කන්ධය හොඳයි කියන දෘෂ්ටිය තමා තුළ තිබූ බව. සෝවාන් වෙන කොට ඒ පුද්ගලයා තුලින් ඒ දෘෂ්ටිය ඉවත් වෙනවා. නමුත් **පංචස්කන්ධය හොඳයි කියන හැඟීම ඉවත් වෙන්නේ අරිහත් ඵලයේදී. පංච උපාදානස්කන්ධය සම්පූර්ණයෙන්ම නැතිවෙලා, පංචස්කන්ධය ඉතුරු කරමින් ඒ පිළිබඳව යම් ඡන්දරාගයක් තිබුණ නම් ඒක සම්පූර්ණයෙන්ම නැතිවෙලා පංචස්කන්ධය බවට පත්වෙන්නේ අරිහත් ඵලයේදී.** මේ ස්කන්ධ පහ සම්මත කතාවක් බව උන්වහන්සේට අවබෝධ වෙනවා. මේවා මාත්‍රා එක්ක මනසින් ගොඩනගා ගත් කල්පිතයන් බවට උන්වහන්සේගේ අවබෝධය පූර්ණයි. **සෝවාන් ඵලයේදී නැතිවෙන්නේ කාය සත් යන දෘෂ්ටිය විතරයි.** කාය සත් කියන හැඟීම සම්පූර්ණයෙන්ම නැති වෙන්නේ අරිහත් ඵලයේදී බව තේරුම් ගතයුතුයි.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**

**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**

MBBS/DFM/MCGP/MPFAM

*24 වෙනි පිටුවෙන්..*

# මෙසේ වූ සිව්පසය වැළඳීමට වඩා ගිනි අඟුරු ගිලීම හොඳයි

පූජා කරනවා. ඒ කවදා හෝ ඒ පිනෙන්වත් තමන් නිවන් දකින්න හිතාගෙන. ඒවගේම මේ සාසන චරියාවේ යෙදෙන භික්ෂු භික්ෂුණීන් උදෙසා එසේ දනක් දෙන්න ලැබීම දෙලොවටම වැඩදායක වූ මහා පුණ්‍යකර්මයක් බව දැනගෙනයි ඔවුන් මේ දානය දෙන්නෙ, ඒ පිනෙන් නිවන් දකින්න හේතු වාසනා වේවා කියල පතන්නෙ. මේවගේ සැදැහැවත් අන්ත දුප්පත් කෙනෙකුට වුනත් එවෙලේ තියෙන විදියට පොල් සම්බෝල සමග දන් බතක් භික්ෂූන්ට දෙන්න සිද්ධ වුනොත්, අනේ අපේ අවාසනාවට මේ දානය රසට දෙන්න බැරිවුනා කියල දුක් වෙනවා. ඒත් ඒ ආහාරය නිවනට උපනිශ්‍රය කර ගන්න දුන්න මහා දානයක් විදියටයි උන් වහන්සේලා පිළිගන්නේ.

ඒ උපාසක උපාසිකාවන්ට එහෙම පිළිගන්වන්න පුළුවන් වෙන්නෙ මේ සාසනයේ භික්ෂූන් සීලවන්තයි, ගුණවන්තයි, අල්පේච්ඡයි කියන හැඟීමක් පැහැදීමක් තියෙනවනම් විතරයි. මේ වගේ අචල පැහැදීමක් සාසනයට දන් දෙන උපාසක උපාසිකාවන් තුල තියෙන නිසයි බොහෝ අය පිං කුසල් කරගන්නෙ, භික්ෂූන් වහන්සේලාගේ පහසු විහරණය සිද්ධ වෙන්නෙ. අද වගේම අනාගතයේ බිහිවන **කාසාව බණ්ඨකවූ භික්ෂු නාමධාරීන් උදෙසාත් මේ විදියටම සැදැහැති උපාසක උපාසිකාවන් කැමට ගත් බත්පත පවා දන් දෙන්න පසුබට වෙන්නෙ නෑ. සාසනය අතුරුදන් වෙලා යන කාලය වන එදාටත් ඔවුන් දන් දෙන්නෙ, දානයේ අනුසස් දැනගෙන මිසක් නිවන් අවබෝධය පිළිබඳ කිසිම අත්දැකීමක් නැතිවයි, පෙර සිටි මහා සංඝයාගේ නාමය සිහිකරගෙනයි.** මේ ආකාර විශ්වාසයකින් සහ චිත්ත ප්‍රසාදයකින් නිවන් දකින්න ප්‍රාර්ථනා කරමින් දන් දෙන මේ උපාසක උපාසිකාවන් මොනතරම් නම් බුද්ධ සාසනය කෙරෙහි විශ්වාසයක් තබල තියෙනවද?

මේ ආකාරයෙන් මේ සාසනය කෙරෙහි මහා ප්‍රසාදයෙන්, ශ්‍රද්ධාවෙන් යුත් උපාසක උපාසිකාවෝ තමන්ට ඇති හැකි ආකාරයෙන් සාසනය උදෙසා දන්දෙන බව දන්නවා. ඒවගේම මහා ගෞරවයෙන් ආරාධනා කරල දෙපා සෝදල පිසදමල සුදු පිරිවට මතින් ගෙවල්වලට වඩමවල දන් දෙනවා. මේ ශ්‍රද්ධාවන්තයෝ බුදු කෙනෙක් ගේ ගුණ සිහිකරල ඒ සාසනයේ පැවිදි වෙලා ඉන්න ශ්‍රාවක සංඝයා වෙතත් ඒ ගුණ සමුදාය ඇතැයි සලකා දෙන මේ දානය, තමන්ගේ කෑම වේල සඳහා කවරදාකවත් සකස් නොකරපු රස මුසු බොජුනෙන් සකස් කරලයි පූජා කරන්නේ. ඉතාමත් පිරිසිදුව, ප්‍රනීතව , නිර්ලෝභීව මහා ශ්‍රද්ධාවෙන් දායකයන් සාසනය වෙනුවෙන් දෙන මේ දානය වළඳන යම් භික්ෂුවක්, තමන් සාසනයට ඇතුලත් වෙච්ච කාරණය අමතක කරල වටිනවද කියල අවංකව හිතනවානම් ඒක කොච්චර වැදගත්ද?.

බුදුන් වහන්සේගේ ශ්‍රාවක සංඝයාත් ඒ විදියටම සාසනයට කැපවී ඇතැයි කියන මහා ශ්‍රද්ධාවක් විශ්වාසයක් තියෙන නිසයි ඔවුන් ඒ දානය දෙන්නේ. එවන් විශ්වාසයක් තැබූ මේ උපාසක උපාසිකාවන්ගේ විශ්වාසය බිඳ දමන්න විටිනවද කියල උන්වහන්සේලා කල්පනා කරනවනම් කොච්චර වටිනවද?

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**වෑබඩ සිරිසේන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 15 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ◆ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. ◆ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම. ◆ සමන් සිල්වා මහතා - නාගොඩ, කළුතර. ◆ ඩී.සී.ආර් ඇක්සස් ලංකා මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුලු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ. ◆ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය. ◆ එස්. එම්. ජයසේකර මහතා - මාලබේ. ◆ ඒ.කේ.සී.සංජීව මහතා - පිටකෝට්ටේ. ◆ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත. ◆ වෛද්‍ය ආර්.පී. වීරසිංහ මහතා -කොහුවල, වැබඩ සිරිසේන මහතා, ◆ ෆික්රි ඉස්මයිල් මහතා, ගයාන් ගුණරත්න මහතා - ගොතටුව. ◆ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය, ◆ නන් අයුරින් දායක වූ පිංවතුන්

**මූල්‍යමය දායකත්වය** ◆ ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර ඕස්ට්‍රේලියාව - රු. 50,000/- ◆ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ◆ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු. 5,000/- ◆ නෙළුව සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැලුම් ලංකේෂ්වර මහතා ඇතුළු පවුලේ සැම - රු. 5,000/- ◆ ජී.එච්.කේ. යමුනා ප්‍රියශාන්ති මහත්මිය - ඇහැලියගොඩ - රු. 5,000/- ◆ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ◆ විපුල සංජීව මහතා - හෝමාගම - රු.2,400/- ◆ සුභද්‍රා සිරිවර්ධන මහත්මිය - කඳාන - රු. 2,000/- ◆ කෝෂලා සිරිවර්ධන මෙනෙවිය- ගාල්ල රු 2000/- ◆ පුබුදු ශ්‍යාමික මහතා - නිට්ටඹුව - රු. 2,000/- ◆ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,000/- ◆ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ◆ සේනපුර පඤ්ඤාසාර හිමි - පොල්ගහවෙල -රු.1,000/- ◆ අසංක ප්‍රේමතිලක මහතා - රු.1,000/- ◆ අරුණ නිශාන්ත දිනේෂ් මහතා - මාකොල - රු. 1,000/- ◆ ඩබ්.එම්.සංජීව වලිසුන්දර මහතා - පොල්ගහවෙල -රු.1,000/- ◆ ප්‍රසන්න ප්‍රියදර්ශන මහතා - ගල්කිස්ස - රු.1,000/- ◆ සුමනා කොඩිතුවක්කු මහත්මිය - අලපලාදෙනිය - රු.1,000/- ◆ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු.1,000/- ◆ ගයාන් ගුණරත්න මහතා,චතුරිකා ගුණරත්න මහත්මිය - ගොතටුව - රු.2,000/- ◆ ප්‍රියන්ත වාහලවත්ත මහතා - දෙහිවල - රු.1,000/- ◆ ශශිකා කරවිට මහත්මිය - හෝමාගම - රු.1,000/- ◆ කේ.එම්.ඩී.සමන්ති මහත්මිය - නෙළුව රු.1,000/- ◆ ශිරානි ගනේගම මහත්මිය - හෝකන්දර - රු.1000/- ◆ මනෝජ් ජයසූරිය මහතා - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, ඉසුරු සම්පත් මහතා - කළුතර, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, සුභාෂිනී අබේරත්න මහත්මිය - වත්තල, සුජාතා දසනායක මහත්මිය ,අජිත් නෙලංජන් පෙරේරා මහතා - දෙහිවල, නදුල අබේසිංහ මහතා - මාතර, දුමින්දා සංජීවනී මහත්මිය , සමීර කුලතිලක මහතා - නිට්ටඹුව - රු. 9,000/- ◆ වෙනත් පිංවතුන්ගෙන් ලද පරිත්‍යාග 1100/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 112,500/- පිටපත් 5000 ක් සඳහා මුද්‍රණ වියදම - රු. 120,000/- ◆ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා!**

**එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එලි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සහා ගුවන් හඬ''ට පිවිසෙන්න.



# අතීසාරයට අමුඩ ගැසීම





විටින් විට මහ හෙණ ද නගමින් අහස ගුගුරා හැළේයා
වටින් මහ කඳු කඩා වැටෙමින් දනන් අවතැන් වුනේයා
යටින් පොළොව ද ගිගුම් දෙති නෙක මැදුරු ඉදිරී වැටේයා
කටින් හිටවන බතල කොළ මෙනි හේතු විසඳුම් නොවේයා

පාති හේතුන් ලෙසින් විදු ලොව නොයෙක් සංකල්පද ගොතා
දාති විසඳුම් මෙසේ යැයි කියමින් නමුත් ඉන් ඵල නැතා
නීති රීති ද පනවමින් ලොව රකින්නට කෙරුවත් කතා
නේති පිළියම් දනන් හට අවබෝධ වන තෙක් ලොව යථා

අසාධාරණ අයුතුකම් මුල් කරන් වස්තුව ගොඩ ගසා
වසා ගෙන තනියෙන් විඳොත් සැප මිනිස්කම් කිසි නැති ලෙසා
නිසා නොදැහැමි මනු සතුන් ලොව රකින දෙවියොත් එය අසා
දසා බලලා අතහරී රැකවරණ වෙනු වස් නෙක දොසා



ආපු කුණු සිත්වලට කැරකී යළිත් එයි අකුණක් ලෙසේ
දාපු කුණු සිත් අටුවෙ පුරවා කුණාටුව වී මුණ ගැසේ
කාපු දේවල් නොදැහැමින් ගෙන විඳත් තලු මරමින් රසේ
දීපු ගින්දර සොබාදම වෙත ඇවිත් යළි මේ ලෙස පැසේ

ලෙඩේ හරිහැටි නොහඳුනා ගෙන කරන පිළියම් නැත එලේ
වැඩේ නොකෙරෙන විටදි දෙයි නියමයන් ගේ විදු ලොව බලේ
මඩේ ඉඳගෙන ගොඩට එන හැටි කියන මිනිහා හැම වෙලේ
මැඩේ එමඩින් නොහැක ගොඩ එනු දකින තෙක් තතු මඩ වළේ



සාර දම් යැයි පෙර පටන් එන ලොවේ යහ ගුණ නැති තැනා
මාර දම්මයි පෙරට එන්නේ මහා වැනසුම් ගෙන දෙනා
තෝර ගැනුමට බැරිව මේ දෙක කළත් පිළියම් ලොව දනා
බේර ගැනුමට අතීසාරෙට කුමට අමුඩය ගසමිනා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# අපේ උරුමය

අල්වා ඉඩම් ගොඩ මඩ දෙක බරට බරේ
දල්වා මහා එළි සුවිසල් මැදුරු දොරේ
හොල්වා සිටින මුත් මේ කය තියෙන තුරේ
ගිල්වා මහා දුක් සයුරේ තනිව මැරේ

හත්මුතු පරපුරට යැයි කියමින් ධනය
අත්කර ලොකු කමට දෙඩුවෙත් ඒ ගැනය
කෙත් වතු පිටින් තිබුණත් නැතිනම් ගුණය
පත්වෙන විටදී මරණෙට එන්නේ හෙණය

මැදුරු යාන වාහනවල දිවි ගෙවුණු
යතුරු කැරලි ඉන හංගා ගෙන දැවුණු
මිතුරු පිරිවරා රස මසවුළු කැවුණු
සොඳුරු යුගය ඉවරයි සිහිනෙකි මැවුණු

සිප් සත හදාරා කළ ජය පැන් පානේ
හැප්පුණු තරඟවල දස්කම් සිය ගාණේ
පිප්පුව තරම් පෙන්වා ලොකුකම මූණේ
ලොප් වෙයි එසැම දුටු සේ දිනයක හීනේ

එක් කළ නමුත් හේතුවෙ එල ලෙසට සැමා
රැක්කුව වස්තු නොව දැන් තම කයද දමා
දුක් කඳ නැගෙයි වුව හොත් යන විටදී පමා
සක්විති රජ වුවත් උරුමය මෙයම තමා

හතර රියන අප කාටත් උරුම වුනු
විතරමය ලැබෙන්නේ මේ ලොවදී මනු
නිතර සිහි කළොත් මේ හැම ලෙසට කුණු
නතර කරනු හැක දුක් කඳ සසරෙ තැනු

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී